සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ ඉල් මස (ව්‍යවහාරික වර්ෂ 2017 නොවැම්බර්)

74 වෙනි කලාපය




## වස විස ආහාර වලට එරෙහි විකල්ප...

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-







# සසර දිනමු...

නිල බල යස ඉසුරු නොව ලොව මිනි සුන්නේ
කළ පව පිනයි මරණින් පසු ගෙන යන්නේ
සළ කනු යෙහෙකි දෙලොවම පිහිටට ඉන්නේ
මුල මැද අග නිමල දහමයි මුනි ළුන්නේ

මිනිස් සත් වගට බුදු හිමි සෙතක් වෙළා
වෙසෙස් දහම සිව් සස් දම පසක් කළා
දහස් ගණන් සත වුන මෝහයෙන් මුළා
කෙලෙස් නසා මොක් මග දුටු නැණැස් හෙළා

අත හිත දෙනු පිණිස සත හට දුක හමුවේ
සත වෙත පතළ කුළුණෙනි බුදු බව පැතුවේ
වත ගොත කුමක් වුව කා හට වුව පොදුවේ
ගත සිත නිවන දහමකි බුදු හිමි දෙසුවේ

දහමෙහි ඇසුර ලැබ එහි සුව පහස දිනා
සසරෙහි පින පිරුව බොහො අය පැවිදි වුනා
පිරුමෙහි බණ දහම් නියැලුනි විලස මනා
නිවනෙහි අම සුවය ලද එම පිනැති දනා

ඇස කන නහය දිව සහ කය යනා දී
රස පහසට ලොබව පස් කඳ දිනා දී
සස රෙහි සරති සත දුක වේදනා දී
දස වද විඳිනු කිම උපතක් තනා දී

නුව ඤැස යොමා ලොව සැම අනිස බව දැන
සම ලෙස සිතා දුක සැප යස ඉසුරු ගැන
නිද හස ලබා දෙලොවම සුව පිණිස වන
මුණි බස අසා සැනසෙමු කොද පිහිට වෙන

සම් බුදු සසුන පවතින මෙම සොඳුරු යුගේ
දම් රස අමාවෙන් සත හට නොමැත හිඟේ
කම් ඵල උගෙන දැන හිමි දෙසු දහමෙ අගේ
නිම් නැති ගොර සසර ජය ගනු යෙහෙකි හැඟේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා










## මහා පිරුවානා පොත් වහන්සේ ඇසුරින් නිවන් මග 01

# මංගල්ලය සහ මහා මංගල්ලය

අද අපි මංගල්ලයක් කියල කියන්නෙ මොන වගේ දේකටද? ලස්සනට ගෙයක් දොරක් හදල වැඩ ඉවර කර ගත්තම, ඒක හදනකල් තිබුන හිසේ ඇම්ම ඉවර වෙන නිසා ඒ ගෙට ගෙවදීම මංගල්ලයක් කර ගන්නවා. නෑදෑ හිත මිතුරන් ළං කරගෙන ඒ සතුට බෙදා හදා ගන්නවා. ඒ වගේම හිතට ගැලපෙන ආවාහයක් විවාහයක් කරගන්න ලැබුනම, එතෙක් කල් තිබුන අසහනය දුරුවෙන නිසා ඒක මංගල්ලයක් කර ගන්නවා. මංගල්ලයක් කියන වචනයේ පද වෙන් කරල බැලුවම මං + ග + ල + ළයක්. "මං" කියන්නෙ මාවත, "ග" කියන්නෙ ගැව් ගැවී, "ල" කියන්නෙ ළයාන්විතව. මේ ටික එකතු කරල ගලපල ගත්තම, අවසානයට **ළයේ සැනසීමක් ඇතිවන විදිහේ ළයාන්විතව ගැව් ගැවී ඇසුරු කරගෙන යන වැඩපිළිවෙලකට මංගල්ලයක් කියල කියන්න පුළුවන්.**

මංගල කියන වචනයට ලෞකික, ලෝකෝත්තර වශයෙන් අර්ථ දෙකක් තියෙනවා. **ලෞකික වශයෙන් ගන්න මංගල්ලයක සැප පෙන්ව පෙන්වා අවසානයේ දුක කරාම ගෙනියන වැඩ පිළිවෙලක් තමයි තියෙන්නෙ.** ගෙයක් හදාගත්තම ඒක රැකගන්න වෙහෙස මහන්සි වෙන්න ඕන. කොච්චර වෙහෙසුනත් කාලයත් එක්ක ඒක ජරා ජීර්ණ වෙලා කැඩිල බිඳිල යනවා. නැවත නැවත පිරියම් කරන්න වෙනවා. ආවාහයක් විවාහයක් වුනත් ඒක රැකගන්න වෙහෙස මහන්සි වෙන්න ඕන. කොච්චර වෙහෙසිලා රැකගන්න හැදුවත්, ජීවිත කියන්නෙ ලෙඩ වෙන, වැහැරෙන, ජරාවට පත්වෙන වැනසෙන ජාතියක්මයි. ගුණ යහපත් දූ දරුවන් හැදුවත්, ඒ අයත් දෙමව්පියන්ගෙන් වෙන් වෙලා යනවා. අසමගිකම්, වාද විවාද ඇතිවෙලා හිත් රිදීම් ඇතිවෙන්න පුළුවන්. **විවාහය කියන වැඩපිළිවෙලත් අවසානයට දුක මිසක් නොනැසෙන යහපතක්, අභිවෘද්ධියක් ලබා දෙන්නෙ නෑ. ආස්වාද මාත්‍රයකට දුක් කඳක් විඳිනවා විතරයි.**

ඒතා දිසානි කත්වාන
සබ්බත්ථ මපරාජිතා
සබ්බත්ථ සොත්ථිං ගච්චන්ති තං
තේසං මංගල මුත්තමන්ති

මහා මංගල සූත්‍ර දේශනාවේ අවසානයට තියෙන මේ ගාථාවෙන් කියවෙන්නෙ, **යම් කෙනෙක් මේ උතුම් මංගල කාරණා ක්‍රියාත්මක කරගෙන යනව නම්, කිසි දිනක පරාජයක් නොවී, මෙලොව අභිවෘද්ධිය, පරලොව අභිවෘද්ධිය, උතුම් නිවන් සාක්ෂාත් කර ගැනීම කියන සියළු අභිවෘද්ධීන් අත්වෙන දිසාවට ඒ ජීවිතය ගමන් කරනවා කියන එක.** බුදු පියාණන් වහන්සේ මේ වැඩපිළිවෙලට මංගල කාරණා තිස් අටක් (38) දේශනා කරල තියෙනවා.

පළවෙනි මංගල කාරණය තමයි, අසේවනාච බාලානං. බාලයන් සේවනය නොකිරීම දෙලොව යහපත සලසන, නිවනට මගක් වෙන උතුම් මංගල කාරණයක්. අද අපි බාලයන් කියල කියන්නෙ තමන්ට වඩා වයසින් අඩු අයට. ලෞකික සම්මුතිය තුළ සදාචාර සම්පන්න සමාජ පැවැත්මකට ඒ ආකාරයෙන් බාලයන් විසින් වැඩිහිටියන්ට ගරු බුහුමන් දැක්වීම හොඳයි. නමුත් එතනදි එක් කෙනෙකුට බාලයා තවත් කෙනෙකුට වැඩිහිටියෙක් වෙන්න පුළුවන්. මේ කියන වැඩිහිටි අය අතරෙ පස් පව්, දස අකුසල් කරන අයත් ඉන්න පුළුවන්. ඒ අය සේවනය කරල ළයේ සැනසීමක් ඇතිවෙන්න විදිහක් නෑ. පව් කිරීම දුක් කම්කටොලු උදා කරන වැඩපිළිවෙලක්. සිවු අරිසස් (චතුරාර්ය සත්‍යය) නොදන්නා පෘතජ්ජනයා අන්ධයි බාලයි. අන්ධෝ බාලෝ පෝථුජ්ජනිකෝ... කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා.

බාලයාගේ ස්වභාවය, තමන් බාලයෙක් බව දන්නෙ නෑ. ඒ නිසා පණ්ඩිත ඇසුරක්, සේවනයක් ගැන දන්නෙත් නෑ. ඒ වගේම සිවු අරිසස් දන්නා අයගෙ පණ්ඩිත අවවාද අනුසාසනා පිළිගන්නෙත් නෑ. අඥාන බවටම පත්වෙනවා. සතුරන් වගේ තමන්ට පහර දෙන පව්කම්වල නිරත වෙනවා, විපාක පහර විඳිනවා. මධුවා මඤ්ඤති බාලෝ... බාලයා තමන් කර ගත්ත පාප ක්‍රියාව මිහිරි රසයක් වගේ මෙනෙහි කර කර සතුටු වෙනවා. යහළු යෙහෙළියන් පිරිවරාගෙන කිය කියා රාග කුණු, ද්වේශ කුණු, මෝහ කුණු රස විඳිනවා. තමන් ඉගෙන ගත්ත සිප් සතර පවා නපුරු කටයුතුවලට යොදා ගන්නවා. අතීතයෙත් ඒ වගේ අය හිටියා. දේවදත්ත හාමුදුරුවො ඒ වගේ කෙනෙක්. වර්තමානයෙත් ඒ වගේ අය ඉන්නවා. ජංගම දුරකථනය භාවිතා කරල අසභ්‍ය රූප අරගෙන අන්තර්ජාලයට මුදා හරිනවා. විද්‍යුත් පද්ධතිවලට වෛරස් මුදා හරිනවා. මුදල් නෝට්ටු වංචනිකව මුද්‍රණය කරනවා. තමන්ම විස ඖෂධ ශරීරගත කරගෙන සිය දිවි හානිකර ගන්නවා. බාලයාගේ ස්වභාවය එදත්, අදත්, අනාගතයෙත් මේ වගේ. ගිහි පැවිදි කියල මේ කාරණයෙදි වෙනසක් නෑ. තමන්ට වාසිදායක විදිහට සියලු කටයුතු සිද්ධ වෙන්න ඕන කියලයි හිතන්නෙ. ඒකෙන් තමන් තුළ මානයත්, තණ්හාවත් වැඩෙනවා. මේ වගේ කරුණුවලින් බාලයා හඳුනගෙන ඒ අය සේවනයෙන් වෙන් වෙන්න ඕන.

අද අපට බොහෝ කොටම ඇසුරු කරන්න ලැබෙන්නෙ මේ අන්ධ බාල පිරිස තමයි. බුද්ධ සාසනය පිරිහිලා යන කාල වකවානු ඇතිවෙන බව බුදුන් වහන්සේ දැනගෙන හිටියා. උන්වහන්සේගේ තුන්කල් නුවණට ඒ කාරණය ගෝචරයි. ඒ වගේම තමන්ගෙ ශ්‍රාවකයන්ට කරන්න බැරි දේවල් උන්වහන්සේ දේශනා

කරන්නෙත් නෑ. එහෙනම් බාලයන් ඇසුරු නොකර ඉන්න පුළුවන් විදිහක් මේ කාලෙදිත් තියෙන්න ඕන. බුදුන් වහන්සේ දේශනා කළේ අසේවනාච බාලානං... කියල. **බාලයන් ඇසුරු නොකරන්න නෙවෙයි, බාලයන් සේවනය නොකරන්න කියල දේශනා කළේ.** එක වගේ පෙනුනට ඇසුරු කරනවා, සේවනය කරනවා කියන්නෙ කාරණා දෙකක්. ඇසුරුම් කරනවා කියන්නෙ, එක ළඟින් පිළිවෙලකට තියනවා. ඇසුරු කරනවා කියන්නෙ ළඟින් ඉන්නවා කියන එක.

දේවදත්ත හාමුදුරුවො බුදුන් වහන්සේ ඇසුරෙම එකම වෙහෙරෙ වැඩ හිටියත් සේවනය කළේ නෑ. ඒ නිසා විපතට පත්වුනා. සුනක්ඛත්ත කියන ලිච්ඡවී කුමාරයා බුදු සසුනෙ පැවිදි වෙලා, එක්තරා කාල සීමාවකදි බුදුන් වහන්සේට ඇප උපස්ථාන කරගෙන හිටියත් සේවනය කළේ නෑ. බලු තාපසයෙක් ගැන පැහැදිලා සසුනෙන් බැහැර වුනා. ගුරු ඇසුරේ හිටිය හත්ථිසාරිපුත්ත චිත්ත කියන භික්ෂුව, ථෙර මහණුන් අභිධර්මය කතා කරන කොට මැදට පැනල තමනුත් දන්න බව අඟවන්න විටින් විට කතා කරනවා. මහා කොට්ඨිත මහ තෙරුන් වහන්සේ, එහෙම කරන්න එපා කියල අවවාද කළා. මේ භික්ෂුව සික්ෂාවේ නොඇලුන කෙනෙක්, නමුත් ධ්‍යාන උපදවාගෙන අනෙක් භික්ෂූන් වහන්සේලා අතරේ මහ ථෙර කෙනෙක් වගේ පෙනී හිටියා. අවසානයෙදි කාම විතර්ක බහුල වෙලා ගිහි බවට පත්වුනා, උපැවිදි වුනා. මේ කතාව තියෙන්නෙ අංගුත්තර නිකායේ 4 වෙනි කාණ්ඩයේ 179 වෙනි පිටුවේ එන හත්ථිසාරිපුත්ත සූත්‍ර දේශනාවෙ. ගුරු ඇසුර ලැබුවයි කියල ඒකෙන්ම නිවන් දකින්න බෑ. බුදුන් වහන්සේ දේශනා කළෙත්, මම මග පෙන්වන්නෙක් විතරයි, නුඹලාගේ කෙලෙස් තර්පනය නුඹලාම කරගත යුතුයි කියල.

ඒ වගේම දේවදත්ත හාමුදුරුවො සේවනය කරල අජාසත්ත කුමාරයා තමන්ගෙ පිය රජතුමා ඝාතනය කළා. පසු කාලයක බුදුන් වහන්සේගෙන් බණ අහල මග ඵල ලබන්න තිබුණ අවස්ථාව බාලයන් සේවනය කිරීම නිසා අහිමි වුනා. උරෙන් උර ගැටිල ඇසුරට හිටියත් බාලයන් සේවනය නොකරන අයත් නැත්තෙ නෑ. සමහර කාර්යාලවල බේබද්දන් වගේ මත් පැනට ඇබ්බැහි වෙච්ච අය අතරෙ මත් පැන් නොබොන, ඕපා දූප කේළාම් කතා කරන අය අතරෙ ඕපා දූප කේළාම් කතා නොකරන අයත් ඉන්නවා. ඒ අය ඇසුරු කරන්නෙ රාජකාරියට විතරයි. සමාජමය වශයෙන් කළ යුතු යුතුකම් වගකීම් ඉටු කරනවා. නමුත් සේවනයක් නෑ.

**සේවනය කරනවා කියන්නෙ අනුගමනය කරනවා කියන එක.** බුදුන් වහන්සේව සේවනය කළ භික්ෂූන් වහන්සේලා උන්වහන්සේගෙන් කමටහන් අරගෙන දුර බැහැර සෙනසුන්වල වැඩ හිඳිමින්, ඒ කමටහන් මනාව වඩල සසර දුකින් මිදුනා. බොහෝ කොටම බාලයන් ඇසුරු කරන්න සිද්ධ වෙලා තියෙන මේ කාලෙදි, සේවනය කරන්න කල්‍යාණ මිත්‍රයො නැත්නම් සද්ධර්මය සේවනය කරන්න පුළුවන්. දුර හිටියත් සත් තිස් (37) බෝධි පාක්ෂික ධර්ම අනුගමනය කරන අය, ඒ සත් දහම දේශනා කරන කල්‍යාණ මිත්‍රයන් සේවනය කරන අය වෙනවා. ඒ අය ළඟ නොහිටියත් සේවනය කරන පිරිසට ඒ කළණ මිතුරන්ගේ ආශිර්වාදය නිරතුරුවම ලැබෙනවා, සේවනය ලැබෙනවා. ඒක න්‍යාය ධර්මයක්.

භාවනා කරන්න කලින් පූර්ව කෘත්‍යය කරනව කියල අපි ගාථා සජ්ජායනා කරනවා. ඒ කියන්නෙ සද්ධර්මය සේවනය කරනවා. වැඩක් කරන්න කලින් පිනක් කරල ප්‍රසන්න මනසක් ඇතිකර ගන්නවා. එහෙම කරල තෙරුවනේ ආශිර්වාදය රැකවරණය ලබා ගන්නවා. **සත් බුදු නමස්කාරය කරන කොට ඒ ඒ බුදු පියාණන් වහන්සේලාගේ කාලවලදි බුදු මග සේවනය කරල, දූන් බ්‍රහ්ම ලෝකවල වැඩ ඉන්න බ්‍රහ්ම දේවතාවො අදත් බුදු මග සේවනය කරන අයට ආශිර්වාද කරනවා.** දුර හිටියත් සේවනය කරන්න පුළුවන්. ඇසුරු කළාට සේවනය නොකර ඉන්නත් පුළුවන්. මේ වචන දෙකේ අරුත් වෙනස් බව පැහැදිලි කරන්න අවශ්‍ය නිසා මේ විදිහට පැහැදිලි කළත්, අද ඇසුරු කරනවා කියන වචනය සේවනය කරන අවස්ථාවලදිත් භාවිතා කරනවා. නමුත් ඒක වැරදි ව්‍යවහාරයක් බව පෙනී යනවා. ඒ නිසා ඇසුරු කිරීමයි සේවනය කිරීමයි මේ විදිහට තේරුම් ගන්න ඕන.

දෙවැනි මංගල කාරණය පණ්ඩිතානංච සේවනා. පණ්ඩිතයන් සේවනය කිරීම මංගල කාරණයක්. ලෞකික වශයෙනුත් පණ්ඩිත කියල කොටසක් ඉන්නවා. අබුද්ධෝත්පාද කාලවල හොඳ - නරක, පින් - පව් කියල දෙන ගුණවත් මුණිවරු ඉන්නවා. පස් පව්, දස අකුසල් කරන්නෙ බාලයෝ, බාලයන් සේවනය කරන්න එපා, දුගතියට හේතු හැදෙනවා කියල ඒ අය ජනයා දැනුවත් කරනවා. මේ කාලෙදිත් ඒ වගේ හොඳ නරක කියල දෙන පිරිසක් ඉන්නවා. ඒ මග සේවනය කළොත් සුගතිය ලබනවා. දුගතියෙන් මිදෙන නිසා ඒකත් මංගල කාරණයක්. නමුත් නිවන් දකින්නෙ නෑ. ඒ නිසා නැවත සසර දුකට වැටෙන්න පුළුවන්.

සිවු අරිසස් අවබෝධ කරගත්ත, ලෝකෝත්තර දහම් මගට නැඹුරු වෙච්ච පණ්ඩිත තැනැත්තා ලෝකය ඇතුලෙ වටිනා හරවත් දේවල් හොයන්නෙ නෑ. ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන්, පාප බාල මෝඩයන් සේවනය කළොත් ගුණ දහමින් පිරිහෙන බව කියල දෙනවා. සත්පුරිස සේවනයේ වැදගත්කම කියල දෙනවා. ඒ වගේම පණ්ඩිතයා කුසල් අකුසල් දන්නවා, අකුසලය බැහැර කරන්නත් කුසලය වැඩි දියුණු කරන්නත් මග පෙන්වනවා. කු + සල - කුසලය කියන්නෙ පහත් දේවල් සලා හැරීම. රාග, ද්වේශ, මෝහ මූලික වෙලා තමයි පස් පව්, දස අකුසල් කියන පහත් දේවල් කරන්නෙ. ඒවා බැහැර කරන එක පහසු නෑ. අනන්ත සසරෙ බොහෝ කාලයක් පුරුදු පුහුණු කරගෙන ඇවිත් තියෙන්නෙ ඒ පහත් වැඩපිළිවෙල. ඒ නිසා පවින් වැළකෙන්න ලොකු උත්සාහයක් වීර්යක් ඕන. සත් පුරුෂ පණ්ඩිතයන් සේවනය කිරීම ඒකට ලොකු උපකාරයක් වෙනවා. ඒ සත් පුරුෂයන් ළඟ ලෝකයට විත කරන රළු වැඩ නෑ. මුදු ගුණ තමයි තියෙන්නෙ. මානය දුරු කරගෙන යන නිහතමානී අය. ලෝකයෙන් එතෙර වෙන මග දකල තියෙන නිසා, ලෝකයට ඇලෙමින් වාසය කරන සියලු සත්ත්වයන් කෙරෙහි මහා කරුණා ගුණයක් ඒ උත්තමයන්ට තියෙනවා. ඒ උතුම් පණ්ඩිතයන් හිතින්, කයින්, වචනයෙන් ලෝකයට යහපත වෙන දෙයක්මයි හිතන්නෙ, කියන්නෙ, කරන්නෙ. තමන් ඇසුරට එන අයවත් ඒ යහපත් දේටයි යොදවන්නෙ. ඒ අයටත් නිවන් මග වැඩෙන වචන තමයි කතා කරන්නෙ. අට ලෝ දහමින් කම්පා නොවෙන තැනට පත් වෙන්නයි පුරුදු පුහුණු කරන්නෙ. මේ වගේ ගති ගුණ තියෙන අයව විමසිල්ලෙන් සොයා බලල පණ්ඩිතයන් හඳුනා ගන්න පුළුවන්.

බාල සේවනය අතඅැරල, මේ වගේ පණ්ඩිතයන් සේවනය කරන කොට, පිදිය යුත්තන් කවුද, පුදන්න ඕන මොනවද, පුදන්න ඕන කොහොමද කියල දැන ගන්නවා. හොඳ නරක දන්න අය මව්පියන්ට, ගුරුවරුන්ට, වැඩිහිටියන්ට ගෞරව කරනවා. බත බුලතින් සුදුසු දෙයින් පූජා කරනවා. ඇප උපස්ථාන කරනවා. අසනීපයක් වුනාම බේත් හේත් අරන් දෙනවා. මේකත් ලෝක සම්මත වශයෙන් සුගතියට හේතුවෙන, යහපත උදා කරන පිදිය යුත්තන් පිදීමක්, මංගල කාරණයක්.

ලෝකෝත්තරව නම් ආර්යන්ව, ආර්ය ගුණ දැනගෙන සේවනය කරනවා. වයසින් බාල වැඩි මහලු කොහොම වුනත් ආර්ය ගුණ ඇත්තා පිදිය යුත්තෙක් වෙනවා, පූජනීය කෙනෙක් වෙනවා. බුදු පියාණන් වහන්සේලාත්, පසේ බුදු පියාණන් වහන්සේලාත්, ආර්ය මාර්ගයට පිවිසුන අටවෙනි (8) ආර්ය ශ්‍රාවකයාගේ (සෝවාන් මාර්ග අනුගාමිකයාගේ) පටන් අරිහතුන් වහන්සේ දක්වාත් පිදුම් ලබන්න සුදුසු පූජනීය උත්තමයො වෙනවා. එදිනම පැවිදි වුන හත් හැවිරිදි සාමණේරයන් වහන්සේත් පිදිය යුත්තෙක්. සිල් වතක් හෝ පුරන භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිවු පිරිසත් පිදිය යුත්තන් වෙනවා. ආර්යන් ආර්යන්ට එකතුයි. ඒ අයට සිවුපසයෙන් උපස්ථාන කිරීම පූජාව පූජනීයානං කියන සුදුසු මංගල කාරණයක්. තෙරුවන් ගුණ සිහි කරල ගුණ උපහාර වශයෙන් මල්, පහන්, සුවඳ දුම්... ආදිය ඒ වගේම උඩුවියන්, වටතිර, පාවඩ, කොඩි, සේසත්, මුතුකුඩ වගේ දේවල් පූජා කරන්න පුළුවන්. ඒ එක එක දෙයින් විවිධ ආනිසංස ලැබෙනවා. මේ විවිධ පූජා පිළිබඳව හෙළ බොදු පියුම සඟරාවල වරින් වර විස්තර කරල තියෙනවා. සම්මා සමාධි අත්වැල් භාවනා පොතෙත් වැඩි විස්තර තියෙනවා. පිදිය යුත්තන් නොහඳුනන පිරිස කරන කටයුතු බොහෝ වෙලාවට අසාර්ථකයි. අසාර්ථක වුනාම ඒ අය ඒ කාරණය වටහාගෙන සාර්ථක වෙන්න උත්සාහ කරනවට වඩා කලකිරෙන ස්වභාවයක් තමයි දකින්න තියෙන්නෙ. පූජාව තියල බුදු ගුණ කියවනවා, තමන්ගෙ දුක්ඛ දෝමනස්ස මෙනෙහි කරනවා. ඉතින් අනුමෝදන් කරන්න පිනක් ලැබෙන්නෙ කොහොමද? මෙනෙහි කරන්න බුදු ගුණ හරියට දන්නෙ නෑ.



පිදිය යුත්තන් පුදන කොට, පතිරූප දේස වාසය සිද්ධ වෙනවා. අද මේ පතිරූප දේස වාසෝච කියන කාරණය තේරුම් කරල දෙන්නෙ, තුනුරුවන් ඇසුරු කරන්න පුළුවන් භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිවු පිරිස හැසිරෙන, දානාදී දස පුණ්‍ය ක්‍රියා කරන්න පහසුකම් තියෙන ප්‍රදේශ කියල. නමුත් මේ පහසුකම් ඉතාම අවම විදේශ රටවල වාසය කරන අය අන්තර්ජාලය හරහා සද්ධර්මය අහල දැනගෙන, ඒ ධර්ම සේවනයේ යෙදිල, කමටහන් වඩල, මේ ධර්මයේ සත්‍යතාවය නුවණින් ප්‍රත්‍යක්ෂ කරගෙන ඉන්නවා. ඒ අය දකපු මාර්ගය පූර්ණ කරගන්න බලාපොරොත්තුවෙන් පැවිදි වෙන්න මේ පින් බිමට පැමිණියත්, සිවු පිරිස ඉන්න මේ රටේ ඒ අයට පැවිදි වෙන්න අවසර ලැබිල නෑ! බාධා වැට කඩොලු වැටිලා. ඒ විදිහට බැලුවම පතිරූප දේස වාසය කියන්නෙ සිවු පිරිස ඉන්න ප්‍රදේශයක වාසය කිරීම වෙන්න බෑ. ඒ නිසා මේ කියන්නෙ භෞතිකව තියෙන භූමියක්, දේසයක් ගැන වෙන්න බෑ.

යම් කෙනෙක්, ලෝකයා හොඳයි කියන දේවල් කළාම, හොඳ ප්‍රතිරූපයක් ගොඩනගා ගත්ත කියල කියනවා. ඒ වගේ ගුණයෙන් යම් කිසි කෙනෙක් වගේම කටයුතු කරන කෙනෙකුටත් ප්‍රතිරූපකයා කියල කියන්න පුළුවන්. සිංහලෙන් පතිරූ කියනවා. ආර්යන් සේවනය කරන කොට ආර්යන් වගේම කෙනෙක් වෙනවා. ආර්ය ප්‍රතිරූපයක් ගොඩනගා ගන්නවා. ආර්යන්ගෙන් නොදන්නා දහම් කරුණු අහල දැන ගන්නවා. දන්න දහම් කරුණු වඩාත් හොඳින් අර්ථ විග්‍රහ කරල තහවුරු කර ගන්නවා. ආර්ය ගුණ තමන් තුලත් වැඩි දියුණු කර ගන්නවා. මේ විදිහට වාසය කරන එක පතිරූප දේස (පතිරූ + උපදේස) වාසයක් වෙනවා. ඒ සඳහා භෞතික පරිසරය නෙවෙයි වැදගත් වෙන්නෙ, නොගැලපෙන පිරිස් ඇසුරු කරන්නෙ නැතිව ආර්ය ගුණ වඩපු උතුමන් ඇසුරු කිරීම.

පුබ්බේච කථ පුඤ්ඤතා කියන කාරණය, පෙර අත්බැව්වල පින් කරල තියෙන බව කියලයි අද විස්තර කරන්නෙ. ඒ විදිහට බැලුවම පෙර අත්බැව්වල පින් කරල නැත්නම්, මේ නිවන් දකින මහා මංගල කරුණු 38 න් 37 ක් තමයි කර ගන්න පුළුවන් වෙන්නෙ. නමුත් නිවන් දකින්න අනුපිළිවෙලින් කළ යුතු වැඩපිළිවෙලක් තමයි මේ මංගල කරුණු 38 න් බුදුන් වහන්සේ දේශනා කළේ. කරන්න බැරි දෙයක් බුදුන් වහන්සේ තමන්ගෙ ශ්‍රාවකයින්ට දේශනා කරන්නෙ නෑ.

අපේ පැරණි උදවිය කුඹුරට බැහැල උදල්ලට, නගුලට, වැඩට අත තියන්න කලින් දැත් එකතු කරන සිරිතක් තිබුනා. දැත් එකතු කරනව දක්කට හිතෙන් හිතුව දේ, ඒ දකින අය දන්නෙ නෑ. හාල් මුට්ටිය ලිපේ තියල වළඳ වටේ දැත යවල හිතුවෙ මොකක්ද කියල අනිත් අය දන්නෙ නෑ. ඒ තමයි පෙර කළ පින් ඇති බව. වැඩක් කරන්න කලින් පිනක් කරල ප්‍රසන්න මනසක් ඇතිකර ගන්නවා.

මනෝ පුබ්බංගමා ධම්මා
මනෝ සෙට්ඨා මනෝමයා
මනසාචේ පසන්නේන
භාසතිවා කරෝතිවා
තථෝනං සුඛමං වේති
ඡායාව අනපායිනී

ධම්ම පදයේ සඳහන් වෙන මේ ගාථාව අනුව ප්‍රසන්න මනසකින් යමක් කිව්වොත්, කළොත් සුබය ඡායාව වගේ පසුපසින් එනවා. දෑත් එකතු කරල සිහි කළේ බුද්ධ, ධම්ම, සංඝ ත්‍රිවිධ රත්නය, තමන් තුළ තියෙන සීල ගුණය. ගමනක් යන්න පය පෙරට තිව්වෙත් එහෙමයි. ඒ කාරණය බොදු දිවියට බද්ධ වෙලා තිබුනෙ. මේ කතාව නොදන්න පසු කාලීන පිරිස, උඳල්ලට නගුලට වඳිනවා... මෝඩ වැඩ, දෑතෙ දෙපයෙ වෙර වීරියෙන්නෙ වැඩ කරන්නෙ... කියල ඒක අතහැරියා. **ත්‍රිවිධ රත්නය සිහි කරන්න සිත් පහළ වෙන්නෙ අචල සද්ධාව තියෙන අයට. ඒ ගුණය අතහැරිය නිසා තමයි කෙතේ අස්වැන්න නිසරු වෙලා, අන්තිමට වස විස යොදන තැනටම පිරිහුනේ**. පෙර අත්බැව්වල පින් කරල නැති නිසා අපට අඟ හිඟ වුනා කියල තමයි තේරුම් ගත්තෙ. නමුත් මුල වරද්ද ගත්ත නිසා තමයි, අඟ හිඟ වුනේ.

සමහර වෙලාවට ත්‍රිවිධ රත්නය සිහි කරල ආරම්භ කළ වැඩක් වුනත් යහපතක් වුනේ නෑ වගේ පෙනෙන වෙලාවල් තියෙන්න පුළුවන්. උදාහරණ විදිහට යම් කෙනෙක් සුදුසු පුණ්‍ය කටයුතු ඉෂ්ඨ සිද්ධ කරල විවාහයක් කර ගන්නවා. සියලු කටයුතු හොඳින් සිද්ධ වුනත් මනමාලි කැන්දන් ආව දවසෙ ඉඳල විවිධ කරදර. අන්තිමේදි දෙන්න දෙපැත්තට වෙන් වෙනවා. දූන් තරහයි, දුකයි, ලැජ්ජයි. තමන් ගැනත් කලකිරීමක් ඇති වෙනවා. දෙවියොත් මගේ දිහා බැලුවෙ නෑ කියල හිතෙන්න පුළුවන්. නමුත් කාලයක් ගියාට පස්සෙ දූනගන්න ලැබිච්ච කරුණු බැලුවම, ඒ කටයුත්ත සිද්ධ වුනා නම් තමන්ට මහ ගිනි ගොඩක ඉන්න සිද්ධ වෙන්නයි තිබුනෙ. පිනක් කරල පටන් ගත්ත නිසා, ධම්මෝ හවේ රක්ඛති ධම්මචාරී... කියන ධර්මතාවය ක්‍රියාත්මක වෙලා තමයි මාව ඒ උගුලෙන් බේරුනේ කියල පස්සෙ වැටහෙන්න පුළුවන්. අනතුරක් වෙන්න ගියත් තමන් අනතුරෙන් බේරෙනවා. හැබැයි ඒක දකින්නෙ පස්සෙ. ත්‍රිවිධ රත්නය කෙරෙහි සද්ධාව දුබල කර ගන්නෙ නැතිව, පිනක් කරල පටන් ගත්ත වැඩෙන් නරකක් වෙන්න විදිහක් නෑ කියල ධර්මය කෙරෙහිම විශ්වාසය තියා ගන්න ඕන. අචල සද්ධාව කියන්නෙ ඒකට.

**ලෝකෝත්තර වැඩපිළිවෙලක් කරගෙන යනකොට මුලදි දුක් කම්කටොලු බොහොමයි, දුෂ්කරයි. හැබැයි අගදි ශාන්තයි, ප්‍රණීතයි. ලෞකික වැඩපිළිවෙලක මුල ආස්වාදජනකයි. ඉදිරියට යන්න යන්න දුක් වේදනා බහුලයි, ගිනි ගොඩයි. මරණය දක්වා සැනසුමක් නෑ**. සමහර වෙලාවට මරණයත්, මරණයෙන් පස්සෙත් දුකයි. පිනක් කරගන්න අවස්ථාවක් ලැබිල නෑ. නමුත් මුලදි ලැබෙන ආස්වාද මායාවෙන් වැහිල, විඳිනවා කියල හිතාගෙන විඳවනවා. ප්‍රසන්න මනසකින් කළත් ලෞකික වැඩ පිළිවෙලක සාරත්වයක් නෑ. ඒ නිසා අපි හිතන්න ඕන, පෙර අත්බැව්වල පින් කළ නොකළ බව නෙවෙයි. සසරෙ පෙර අත්බැව්වල ඕන තරම් පින් රැස් කරල, රජ සැප, දිව්‍ය සැප විඳල ඒ පින් ගෙවිලත් ඇති. යම් කටයුත්තක් කරන්න කලින් ඒ මොහොතෙ, තෙරුවන් කෙරෙහි සද්ධා සිතකින් ප්‍රසන්න මනසක් ඇතිකර ගන්න පුරුද්දක් ඇතිකර ගන්න ඕන.

මේ මොහොතෙ විදර්ශනා කරන්න කියනවා. ඒ වගේම මරණ මොහොතෙ චුති සිත අනුව ඊළඟ භවය සකස් වෙනව කියනවා. මේ කරුණු වටහා ගත්තම, යම් මොහොතක ඇති කරගන්න ප්‍රසන්න මනස ඊළඟ මොහොතෙ යහපත සකස් වෙන්න හේතුවක් වෙන බව පැහැදිළි වෙනවා. රුවන්මැලි මහා සෑය හැදුව දුටු ගැමුණු රජ්ජුරුවො, යමක් කරන්න කලින් ජයෝ මුනින්දස්ස සුබෝධි මූලේ... කියන ගාථාව නිතර සිහි කරපු ගාථාවක් හැටියට ප්‍රසිද්ධයි. කලින් මම ලොකු පිංකමක් කළා කියල ඒකෙන් යැපෙන්න බලාගෙන ඉඳල නෑ. පුබ්බේව කථ පුඤ්ඤතා කියල, බුද්ධ ජයග්‍රහණය සිහි කරල තියෙනවා. පෙර කළ පින් ඇදිල එන්න, සමනන්තරය සකස් කර ගන්න ඕන. ඒ ඒ මොහොතෙ පහසුවෙන්ම කරන්න පුළුවන් මහා පිනක් තමයි අචල සද්ධාවෙන් තෙරුවන් ගුණ සිහි කිරීම, තමන්ගෙ සීල ගුණය සිහි කිරීම. ජීවිතය කියන්නෙ ජීවිත මාත්‍ර වැලක සම්පිණ්ඩනයක්. රාග, ද්වේශ, මෝහ අරමුණුවලින් මනස ප්‍රසන්න කරගෙන හරියන්නෙ නෑ. ඒවා අසාරයි. අවසානය දුක් කම්කටොලු සහිතයි.

ලෞකිකව අපි කැමති වෙන දේ නිසා අපේ නිවන් මග වැහෙනව නම්, ධර්මතාවය අනුව අපිව ආරක්ෂා කරන්න කටයුතු සිද්ධ වෙනවා. ඒ බව මැරෙන මොහොතෙ හරි වැටහෙනවා. අධර්ම මාර්ගයේ ගිය පුද්ගලයා, වතුර රත්වෙනකල් හැලියෙ ඉන්න කකුළුව සතුටු වෙනව වගේ විනෝද වෙවී සතුටෙන් ජීවත් වුනත් මැරෙන මොහොතෙදි ගති නිමිති පහළ වෙලා, බයෙන් වේදනාවෙන් මැරිල දුගතියට යනවා. තෙරුවන් කෙරෙහි අචල සද්ධාවක් තියෙනව නම්, කල් තියා තීරණවලට බහින්නෙ නෑ. විශ්වාසයෙන් යහපත බලාපොරොත්තු වෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ :*

**ඩබ්ලිව්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී,**
**කඩවත**
**011-2901508**



# සතෙක් තවත් සතෙකුට ගොදුරු වන විට අපි කුමක් කළ යුතුද?

උ දුර්වල සතෙක් බලවත් සතෙක්ගෙ ගොදුරක් බවට පත් වෙන අවස්ථාවකදි අපි මොකක්ද කරන්න ඕන කියන කාරණය අද බොහෝ බෞද්ධයන්ට තියෙන ගැටළුවක්. උදාහරණයක් විදිහට මකුළු දැලකට සමනළයෙක් අහුවෙලා ඉන්නව දැක්කම, එහෙම නැත්නම් ලේන් පැටවෙක් ගැරඬියෙකුට ගොදුරු වෙන අවස්ථාවක් දැක්කම මේ ගැටළුව එන්න පුළුවන්.

"කල්ලං කල්ල විපාකං - සුක්ඛං සුක්ඛ විපාකං - කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං" කියල ක්‍රම තුනක් ධර්මයේ සඳහන් වෙනවා. ඒ වගේම ආර්ය මාර්ගයේ යන අයට "නේව කල්ල සුක්ඛං නේව කල්ල සුක්ඛ විපාකං" කියල ක්‍රමයකුත් තියෙනවා. මේ වගේ අවස්ථාවකදි **දුර්වල සතා බේරුවොත් ඒක අභය දානය කියන පුණ්‍ය කර්මයක් වෙනවා. ඒ වගේම ගොදුර අහිමි වුන සතාගෙ ආහාරය අහිමි කිරීම පාප කර්මයක් වෙනවා.** එතකොට ඒක කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං කියන ක්‍රමයට, ඒ කියන්නෙ කළු සුදු හෙවත් පිං පව් දෙකටම අයිති වෙනවා.

දැන් මෙතනදි එක සතෙක් බේරල උගෙට ජීවිත දානය දුන්නා, අනෙක් සතාව බඩ ගින්නෙ තිව්වා. මේ විදිහට කාරණා දෙකක් සිද්ධ වුනා. මේකට මුල් වුන කෙනාට කර්ම විපාකයක් විදිහට මේ වගේ දෙයක් සිද්ධ වෙන්න පුළුවන්. මහා ගං වතුරක් ඇවිත් ඒ පුද්ගලයගෙ ජීවිතය අනතුරට පත්වෙනවා. ඒ වෙලාවෙදි සතෙකුට අභය දානය දීපු පින මතු වෙලා, කවුරු හරි හෙලිකොප්ටරයකින් හරි ඇවිත් කඹයක් දාල ඔහුව ඔසවගෙන ගිහින් උස් කඳු ගැටයකින් තියල යන්න පුළුවන්. හැබැයි ඒ බේර ගත්ත කණ්ඩායමට ඒ පුද්ගලයව ඊට පස්සෙ මතක් වෙන්නෙ නෑ. දැන් ඒ පුද්ගලයා කෑමක් බීමක් නැතිව දින ගණනක් වතුර බැහැල යනකල්ම එතනට වෙලා දුක් විඳින්න පුළුවන්. එදා සතෙකුට ආහාරය අහිමි කිරීමේ පාපයේ විපාකයක් විදිහට දුක් විඳින්න සිද්ධ වෙනවා. ඒ සතා එදා බඩගින්නෙන් මියගියා නම්, අද ඒ පුද්ගලයත් සමහර විට කෑමක් බීමක් නැතිව මැරිල යන්නත් ඉඩ තියෙනවා. විපාක දෙකම එකටම විඳින්න සිද්ධ වෙනවා. හේතුවට අනුව ඵලය ඒ විදිහට හම්බ වෙන්න පුළුවන්.

මෙන්න මේ විදිහට තමයි "කල්ල සුක්ඛං කල්ල සුක්ඛ විපාකං" කියන, කරන ලද සුදු හා කළු කර්මවලට සුදු හා කළු විපාකත් ඒ විදිහටම විඳින්න සිද්ධ වෙන්නෙ. මේකට කවුරුවත් පළි නෑ. කාට කියන්නද? අනුන්ගෙ කර්ම විපාකවලට මුක්කු ගහන්න යනකොට මේ වගේ අවස්ථා එනවා. මොනවා කරන්නද? **එක එක්කෙනා හදාගත්ත ගනුදෙනු පියවමින් යන සංසාර ගමනක තමයි ලෝක සත්ත්වයෝ යෙදිල ඉන්නෙ.** මේක තමයි ලෝක ධර්මතාවය. මේක වෙනස් කරන්න කාටවත් බෑ. මේ වගේ වෙලාවට නුවණින් විමසල බලල මොකක්ද කරන්නෙ කියල තීරණය කරන්න ඕන. මෙහෙම දේවල් ලෝකෙ සිද්ධ වෙනවා කියල අපි දැනගන්න ඕන.

කවද හරි මනුස්සයෙක් කාට හරි කෙනෙකුට මාරාන්තික දුකක් කරදරයක් දීල ඔහුව වනසනවා කියල හිතමු. මේ වරද කරන්න හදන කෙනා අපේ හිතවතෙක් නම් එහෙම, ඔය අනුන්ට උගුල් අටවල කරදර කරන්න එපා, ඕව හොඳ වැඩ නෙවෙයි කියල අපි අවවාද කරන්නත් පුළුවන්. නමුත් ඒ පුද්ගලයා ඒ අවවාද පිළිගන්නෙ නැතුව මේ විදිහට අපිට දොස් කියන්න පුළුවන්. "උඹ කට වහගෙන උඹේ වැඩක් බලා ගනින්. උඹ මොකටද මගේ වැඩවලට ඇඟිලි ගහන්න එන්නෙ? කඩනවා උඹේ දත් ටික. ආව මෙතන මට උපදෙස් දෙන්න." ඉතින් අපිත්, මදැයි යාළුකමට අවවාද දෙන්න ගිහින් මට වෙච්ච දේ, ඔන්න ඔහේ ඕන දෙයක් කරගත්ත දෙන් කියල පැත්තකට වෙන්න පුළුවන්. දැන් මේ කරගත්ත කර්මයට කවදහරි කාලෙකදි ඔය මනුස්සයා සතෙක් වෙලා ඇවිදින් උගුලකට පැටලිලා හරි එදා අනුන්ට කරපු අසාධාරණයට කොටු වෙනවා. දැන් ඒ සතාව කොටියෙක්, පිඹුරෙක් වගේ වෙනත් සතෙක් කන්න හදනකොටම අපි ආයෙත් සැරයක් දකිනවා. දැන් මේ කවුද? එදා අනුන්ට උගුල් අටවනකොට අවවාද දුන්නම තමන්ටත් බැනල දත් කඩන්න කතා කරපු කෙනා අද සතෙක් වෙලා උගුලකට කොටුවෙලා පාපය ගෙවන්න ඇවිත්. අද අපි ආයෙත්, අනේ පව් කියල උගෙව බේරන්න හදනවා. එදා දත් කඩා නොගෙන බේරුනා. අද උගෙට ජීවිත

දානය දීල කන්න බොන්න නැතිවෙන ජාතියේ ක්‍රමයක් හදා ගන්නවා.

මේ ලෝක පැවැත්ම කියන්නෙ මෙන්න මෙහෙම එකක්.

කම්මා විපාකා වත්තන්ති
විපාකා කම්ම සම්භවෝ
තස්මා පුනබ්භවෝ හෝති
ඒවං ලෝකෝ පවත්තති

කරන ලද කර්මයෝ විපාක ගෙනත් දෙනවා. ඒ විපාක විඳින්න ගිහින් නව කර්ම රැස් කරනවා. ඒ නිසා පුනර්භවයක් හට ගන්නවා. මෙන්න මේ විදිහට ලෝකෙ පවතිනවා. මොනවා කරන්නද? ලෝක පැවැත්මක හැටි. අසත් පුරුෂයන්ගේ විපාක ස්කන්ධවලට ඇඟිලි ගහන්න ගිහින් නව කර්ම රැස් කරගෙන කලින් සඳහන් කළා වගේ විපාක විඳින්න හේතු සකස් වෙනවා. ඉතින් අපි දැනගන්න ඕන, අනෙක් ලෝක සත්ත්වයන්ට කරදරයක් නොවන විදිහට හැකි තාක් දුරට ජීවත් වෙන්න. එහෙම කටයුතු කරන ගමන් හැකි ඉක්මනින් අප්‍රමාදීව නිවන් මග වඩා ගන්න උත්සාහ කරන්න ඕන.

දැන් අපි ලෝකයාට යහපතක් කරනව නම් මොනවද කරන්න ඕන. මෙහෙම හිතන්න. ඔබේ ගේ ගිනි ගන්නවා. අපි හිතමු ගේ එක පැත්තක ඉඳන් ගින්න පැතිරිලා එනව කියල. දැන් ගින්න නිවන්න විදිහක් ඇත්තෙම නැත්නම් ඔබ මොකද කරන්නෙ? ඔබට පුළුවන් ආකාරයට උත්සාහ වීර්ය යොදල ගේ ඇතුලෙ තියෙන වටිනාම බඩු මුට්ටු ටික බේරගන්න බලනවා. ඉස්සෙල්ලම සල්ලි, රත්තරන් බඩු ආදියත්, ඉතාම වටිනා ඔප්පු තිරප්පු... ආදී ලියකියවිලිත් එළියට ගන්නවා. ඊට පස්සෙ තවත් වටිනාකමක් තියෙන ගෘහ උපකරණ ආදිය ඒවායේ වටිනාකමේ අනුපිළිවෙලට එලියට ගන්නවා. ඉතිරි වෙලා තියෙන කාලයෙන් උපරිම ප්‍රයෝජන අරගෙන වටිනාම දේවල් තමයි හැකි ඉක්මනින් බේරගන්න බලන්නෙ. දැන් ඔය අතරෙ ගෙදර පොඩි එකා සෙල්ලම් කරන්න ගන්න රබර් ඇට ටිකක් දකිනවා. අනේ පව් මේ පොඩි එකාගෙ සෙල්ලම් බඩුනේ කියල ඒවත් බේරගන්න කාලය නාස්ති කරනවද? ගේ සම්පූර්ණයෙන් ගිනි ගන්න කලින් වටිනාම දේවල් ටික බේරගන්න බලනවා මිසක්, වටිනාකමක් නැති සුළු සුළු දේවල් බේරගන්න දඟලනවද? මේ වෙලාවෙදි ඒ වගේ නොවටිනා දෙයක් බේරගන්න කාලය යෙදෙව්වොත් ඔබේ වැඩ පිළිවෙල සමද, විසමද? එහෙම කළොත් ඒක විසම චරියාවක් වෙනවා. සම චරියාව කියන්නෙ සමානව කටයුතු කරනවා කියන එක නෙවෙයි. බුදු පියාණන් වහන්සේ සම මෙත පතුරුවන්නෙ කොහොමද කියල පැහැදිලිව දේශනා කරල තියෙනවා. (මේ පිළිබඳ විශේෂ විග්‍රහයක් හෙළ බොදු පියුම 1, 2, 3 කලාපවල පළ කරල තියෙනවා.)

එක් අවස්ථාවක අන්‍ය පරිබ්‍රාජක-යෙක් බුදු පියාණන් වහන්සේ ළඟට ඇවිත් මෙහෙම ප්‍රශ්නයක් අහනවා. ඔබ වහන්සේ හැමෝටම සම මෙත පතුරනවා කිව්වට, අපි ප්‍රශ්නයක් ඇහුවම සමහර වෙලාවට පිළිතුරු දෙන්නෙත් නැනෙ. හැබැයි ඔබ වහන්සේගෙ ගිහි පැවිදි ශ්‍රාවකයන්ට නම් සියල්ල හොඳට කියල දෙනවා. ඒක කොහොමද සම වෙන්නෙ කියල ඇහුවා. බුදු පියාණන් වහන්සේ ඒ පරිබ්‍රාජකයට උපමාවකින් ඒ බව පැහැදිලි කරල දෙනවා. කුඹුරු වැඩ කරන දක්ෂ ගොවියෙක් ඉන්නවා. ඔහුට කුඹුරු තුනක් තියෙනවා. පළවෙනි කුඹුර බොහෝ සරුසාරයි. ඉතා අල්ප මහන්සියකින් විසාල අස්වැන්නක් ගන්න පුළුවන්. දෙවනි කුඹුර පළමු එක තරම් සරුසාර නැති වුනාට, පොඩ්ඩක් වැඩිපුර මහන්සි වුනොත් හොඳ අස්වැන්නක් ගන්න පුළුවන්. තුන්වැනි කුඹුර නිසරු කුඹුරක්. කොච්චර මහන්සි වුනත් හොඳ අස්වැන්නක් ගන්න බෑ. සුළු අස්වැන්නක් විතරයි ලැබෙන්නෙ.

දැන් මේ ගොවියා පළමුවෙන් වපුරන්නෙ මොන කුඹුරද කියල බුදු පියාණන් වහන්සේ ඒ පරිබ්‍රාජකයගෙන් අහනවා. සරුසාර විසාල අස්වැන්නක් ගන්න පුළුවන් කුඹුර පළමුව වපුරනවා කියල ඔහු උත්තර දෙනවා. නැවතත් බුදු පියාණන් වහන්සේ අහනවා, දැන් ඒ ගොවියට තව වෙලාව තියෙනවනම් ඊළඟට වපුරන්නෙ මොන කුඹුරද කියල. එතකොට කියනවා, අර ටිකක් වැඩිපුර මහන්සි වුනොත් හොඳ අස්වැන්නක් ගන්න පුළුවන් කුඹුර ඊගාවට වපුරනවා කියල. දැන් බුදු පියාණන් වහන්සේ අහනවා, ඒ ගොවියට තවත් වෙලාව ඉතුරු වෙලා තියෙනවනම් ඊළඟට වපුරන්නෙ මොන කුඹුරද කියල. එතකොට උත්තර දෙනවා, නිසරු කුඹුර කියල. බුදු පියාණන් වහන්සේ එතකොට අහනවා, ඒකට හේතුව මොකක්ද කියල. පරිබ්‍රාජකයා පිළිතුරු දෙනවා, ඒ කුඹුර වපුරල අර තරම් තේරුමක් නෑ, ගොවියා නිකං වෙහෙසට පත්වෙනවා විතරයි කියල.

දැන් නැවතත් බුදු පියාණන් වහන්සේ අහනවා, ඒ නිසරු කුඹුර ගැන ඒ ගොවියා ඒ තරම් සැලකිල්ලක් දක්වන්නෙ නැත්තෙ ඒ කුඹුරත් එක්ක තියෙන තරහටද කියල. නෑ, එහෙම තරහකට නෙවෙයි, වැඩි අස්වැන්නක් ගන්න බැරි නිසයි ගොවියා එහෙම කරන්නෙ කියල උත්තර දෙනවා. දැන් මේ ගොවියා අර මුල් කුඹුරු දෙක වපුරන්නෙ නැතිව ඒ නිසරු කුඹුර වපුරනව නම් ඒක සම වැඩක්ද විසම වැඩක්ද කියල බුදු පියාණන් වහන්සේ නැවත අහනවා. ඒක විසම වැඩක් කියල ඔහු උත්තර දෙනවා. එහෙමනම් හිතාගන්න, මමත් දක්ෂ ගොවියෙක් කියල බුදු පියාණන් වහන්සේ කියනවා. මටත් කුඹුරු තුනක් තියෙනවා. මගේ සරුසාර කුඹුර තමයි මේ නිවන් දකින්න කියල ගිහි කාම ජීවිතයෙන් මිදිල පැවිදි වෙලා ඉන්න භික්ෂු භික්ෂුණී පිරිස. ටිකක් මහන්සි වුනොත් හොඳ අස්වැන්නක් ගන්න පුළුවන් දෙවෙනි කුඹුර තමයි ගිහි උපාසක උපාසිකා පිරිස. නිසරු කුඹුර තමයි අන්‍ය ලබ්ධියක් දරාගෙන ඉන්න, කොච්චර වෙහෙසිලා කිව්වත් ලේසියෙන් ධර්මය අවබෝධ නොවන අන්‍ය පරිබ්‍රාජක පිරිස. ඉතින් හොඳම අස්වැන්න ගන්න පුළුවන් විදිහට තමයි මමත් කටයුතු කරන්න කාලය යොදවන්න කියල උන්වහන්සේ පහදල දුන්නා. ඒක තමයි සම මෙත පතුරුවන විදිහ කියලත් කියල දුන්නා. එහෙම නොකළොත් ඒක විසම වෙනවා. ඒ කියන්නෙ සියල්ල සමානව කරන්න ගියොත් විසම වෙනවා.

මේ විදිහට අපි යමක් කරද්දි ගැලපෙන, තැනට ඔබින විදිහට කළ යුත්ත දකින්න ඕන. **අපේ මේ කෙටි ජීවිත කාලය තුල කාට හරි උදව් කරනව නම් කරන්න වටිනා දේවල් තියෙනවා. අපි යම් ධර්මයක් අවබෝධ කර ගත්ත නම් තේරෙනවා, මේ ධර්මය අවබෝධ කරගෙන ධර්මය ඇසුරු කරන අයට යම් අංශු මාත්‍ර උදව්වක් කළොත් ඒකෙ තියෙන අප්‍රමාණ වටිනාකම.** මොකද අපි කරපු අංශු මාත්‍ර උදව්ව උපනිශ්‍රය කරගෙන ඒ අය ලබාගන්න ඵලය තුලින් ඔවුන්ටත් ලෝකයටත් අප්‍රමාණ යහපතක් වෙනවා. **එච්චර වටිනා සාසනයක ඇසුර ලබන අපි මේ සාසන කටයුත්තක් කරන්න තියෙන වෙලාවෙ තිරිසන් ලෝකෙ ඉන්න, ලෝකෙට කරපු අසාධාරණ නිසා ඒවාට දුක් විඳින සත්තු පස්සෙ ගිහින්, උන්ව බේරන්න ගිහින් උන්ට කරපු යහපතකුත් නෑ, අපිට කරගත්තු දෙයකුත් නෑ.**

අඩුම ගානෙ ඔය වෙලාවෙ මල්

වට්ටියක් අරගෙන ගිහින් මේක බුදුන්ට පූජා කරන්න යන්නෙ කියල කට්ටියට ගිහින් අත ගස්සවගෙන ඇවිත් පූජා කළා නම්, කවුරු හරි කමක් නෑ අත ගහල සාදු කියපු කෙනාටත් කවදහරි නිවනට යන්න පාර කැපෙනවා. **බුද්ධ කියන නාම මාත්‍රයට චිත්ත ප්‍රසාදයක් යම් කෙනෙක් ඇති කර ගත්ත නම්, ඒ පුද්ගලයා කවදාවත් සසරෙ අතරමං වෙන්නෙ නෑ.** අපදාන පාලිය බැලුව නම් දකිනවා, ඒ නිවන් දැකපු මහ රහතන් වහන්සේලාට නිවන් මග පුරන්න පටන් ගන්න හේතු වෙලා තියෙන්නෙ ඔන්න ඔය වගේ ඉතා පොඩි දෙයක් කියල. **එක්කො මලක් පහනක් පූජ කරල, සක්මන් මළුවකට වැලි ටිකක් දාල, එල්ලල තිබ්බ්ච චීවරයකට වැදල ගිහින්, වැලි ගොඩක් ගහල ඒකට බුද්ධ සංඥාවෙන් වන්දනාමාන කරල, නැත්නම් පුංචි දානයක් දීල... ඒ වගේ දෙයකින් පටන් ගත්ත දේ අවසානයේ කල්ප ගණනක් ගිහින් බුද්ධ සාසනයකදි අරිහත් බවට පත්වෙලා සසර ගමන කෙළවර කරල තියෙනවා.**

සාසනය උදෙසා චිත්ත ප්‍රසාද මාත්‍රයක් ඇති කරගත්තත්, පුංචි ගරු කිරීමක් කළත් ඒක වටිනවා. ඒ පුද්ගලයන්ට නිවන ඒකාන්තයි. කවද හරි ලැබෙනවා. නමුත් අද ඕව දකින්නෙ නෑ. සම්පූර්ණ කණපිට තමයි දකින්නෙ. පන්සලක්, බෝධියක්, බුදු පිළිමයක් දකින කොට බස් එකේ ආසනෙන් ඉස්සිලා වඩිනවලු. හැබැයි වයසක කෙනෙක් හරි, ගැබිණි මාතාවක් හරි දැක්කොත් හෙම්හිට කවුළුවෙන් අහස බලාගෙන ඉන්නවලු. මේ විදිහට අද සින්දුත් හදල තියෙනවා. දැන් මේ කතාව තර්කයට නම් ගැලපෙනවා. පූජනීය ස්ථානයක් දැක්කොත් ගරු කරනවා. මිනිහෙකුට උදව් කරන්න අවස්ථාවක් ආවොත් ඒක මග හරිනවා. ඉතින් මේ මිනිස්සු කොයි තරම් අන්දද මෝඩද කියල අපි තර්ක කරනවා. හැබැයි **වයසක මිනිස්සු දාහකට ආසනේ දුන්නට වඩා පන්සලක් බෝධියක් බුදු පිළිමයක් දැකල ගරු කිරීම වටිනවා. ඒ වගේ පූජනීය වස්තුවක් දැකල හිතින් සාදු කිව්වත් සත්තු දාහක් බේරුවට වඩා වටිනවා.** මේ සාසනයේ ස්වභාවය සාමාන්‍ය කෙනෙකුට තේරුම් ගන්න බෑ. ඒක ඒ තරමට බලවත්. අනන්ත සංසාර දුකෙන් මිදෙන්න මුල පුරනවා. ඒකට උපනිශ්‍රය වෙනවා. නමුත් ඒක නොපෙනෙන පැත්තක් නිසා ලෝකයා හිතන්නෙ ඒවා මන්ද බුද්ධිකයන්ගෙ අන්ධ බාල වැඩ කියල. සාසනික පින් මාත්‍රයක් කළත් ඒකෙ බලය අප්‍රමාණයි. මොකද ඒකෙ හේතුවේ ඵලය විදිහට කවද හරි නිවනින් කෙලවර වෙනවා. ලෞකික පින් සීමා සහිතයි. විපාක දීමෙන් ගෙවිල අවසන් වෙනවා. ඉතුරු කරන හෝ ලබන හරයක් නෑ.



මේ බුද්ධ සාසනය කියන්නෙ මහා පුදුමාකාර තැනක්. ඉතින් ඒ තරම් වාසනාවන්ත බෞද්ධ පිරිසක් බවට පත්වෙලා ඉන්න අපිට මේ ලෝකෙ කරන්න වැඩ නැත්ද? අපිට **කෙනෙකුට යම් බණ පදයක් කියල දෙන්න පුළුවන් නම්, නැත්නම් ඒ වගේ පසුතලයක් සකස් කරල දෙන්න පුළුවන් නම් සත්තු දාහක් බේරුවට වඩා වටිනවා.** හැබැයි අද මේක කියල දෙන්න ගියොත් එහෙම, අනේ මේ අපේ බෞද්ධ පිරිස මෙච්චර කල් හරකෙක්වත් බේර බේර හිටියා, දැන් ඉතින් ඒකත් නැති කරල දැම්ම කියල කියාවි. දැන් මේ හරකෙක් බේරගන්නවත් කීයක්වත් දෙන්නෙ නෑ, ඊට වඩා හොඳ වැඩ තියෙනවා කියල මේ අනවශ්‍ය මහා වියදම් කරගෙන පූජා පවත්ව පවත්ව ඉන්නවා කියලත් කියාවි. ඇත්ත වැහිල යනකොට මනුස්සයො එහෙම දෘෂ්ටිගත වෙනවා. මොකද භෞතිකව පේන්න තියෙන දෙයින් විතරක් ඔවුන් තීරණවලට එනවා, වෙන දත්තයක් ඔවුන්ට ගෝචර නැති නිසා.

ඇත්තටම හරක් මරන මස් කඩේ මුදලාලි දන්නවා, අද මේ බෞද්ධ කියන පිරිස හොඳට මුලා කරවන්න. මරන්න හරක් ගේන අතරෙ වහු පැටියෙක් එක්ක වැස්සියෙකුත් අරන් ඇවිත් කපටිකමට පේන්න ගැට ගහල තියනවා. මොකද මස් කරනවට වඩා හොඳ ගානක් හොයාගන්න පුළුවන් එහෙම කළාම. මුදලාලි දන්නවා හරක් බේරන්න එන මනුස්සයො කීයක් හරි දීල අර කිරි බොන පැටියවයි වැස්සිවයි අරන් යන බව. දැන් ඉල්ලන ගාන නොදුන්නොත් මරන්න අරන් යනව කියනවා. එතකොට හිත උණු වුන ගමන් කියන ගානම දීල නිදහස් කරගෙන යනවා. මුදලාලිට එකට හතර ගුණයක් ලාබයි. ඒ මුදලෙන් අනෙක් දවසෙත් ඔය විදිහටම වහු පැටියෙක් එක්ක වැස්සියෙකුත් අරගෙන එනවා. මරන්න වෙනම හරක් අරන් එනවා. බෞද්ධයන්ගෙ අනුකම්පාවෙන් මුදලාලි මඩිය තර කර ගන්නවා. නමුත් නියම බෞද්ධයෙක් නම් මොකක්ද කරන්නෙ? **හරකෙක් වෙන්න ඉන්න මිනිහෙක්ව බේර ගන්න පුළුවන් නම් ඒකෙ වටිනාකම කියල නිම කරන්න බෑ. එක මනුස්සයෙක් හරක් බවින් මුදව ගත්ත නම් හරක් කෝටියක් නිදහස් කළා හා සමානයි.** මොකද හරක් අත්බවක් ලැබුවට පස්සෙ ඒ කර්ම ශක්තිය ගෙවෙනකල්ම ඌ නැවත මැරි මැරී හරකෙක් බවට පත් වෙනවා. ලෝ වැඩ සඟරාවෙ කවියකුත් තියෙන්නෙ "පෙර අඟනක් එක් එළු දෙනක හිස සිඳා - ඇය ඇඟ ලෝම ගනනේ ඉස් කැපුම් ලදා" කියල.

අද හරක් බේරන්න යන බෞද්ධයො, බේරගන්න හරකට ඇලෙනවා. හරක් මරන මිනිහත් එක්ක ද්වේශයක් ඇති කර ගන්නවා. සමහර වෙලාවට හරක් මරන එකාව මරන්න තරම් කේන්තියක් වෛරයක් එනව කියල කියනවා. බෞද්ධ කියල හිතන් හිටියට ඇලීමෙයි ගැටීමෙයි බරපතලකම දන්නෙ නෑ. කවදහරි හරක් මරන මිනිහත් ඒ පව ගෙවන්න හරකෙක් වෙලා ඉපදිලා මැරුම් කන්න වේවි. එදාට මනුස්සව ඉන්න වෙලාවෙ වෛර කළාට, හරක වුනාට පස්සෙ හරක වුන හේතුව දන්නෙ නැති නිසා, ☞

අනේ මගේ වහු පැටියෝ කියල උගේ ඔළුව අතගාල බේරගෙන ඒවි. හරක වුන හේතුව දැක්ක නම් මොනවා කරයිද? මේක තමයි ලෝකෙ හැටි. අන්තිමට තමන්ට්‍රවටුනාමිසක්හරකටකරපුදේකුත් නෑ, තමන්ට කරගත්ත දේකුත් නෑ. මොකද හරක වුනාට පස්සෙ අපිට හරකව තිරිසන් බවෙන් බේරන්න බෑ. හැබැයි හරක් මරන මිනිහව හරි, මිනිස්ව ඉඳන් ලෝකයේ හරය කා දමමින් හරක් වෙන්න ඉන්න මිනිස්සුන්ව හරි බේරගන්න පුළුවන් නම් ඒක නේද නියම පින වෙන්නෙ? **අද මරන්න ඉන්න හරකෙක්ව බේරගන්න රුපියල් පනස් දාහක්වත් අඩුම ගානෙ ඕන. හැබැයි ආර්ය උත්තමයෙක් වඩම්මවල දහ දෙනෙකුට අඬ ගහල නිවන් දකින බණක් සංවිධානය කරන්න එච්චර මුදලක් යන්නෙ නෑ.** එයින් එක්කෙනෙක් හරි හරක් බවෙන් සදහටම මිදුනොත් ඒක මිල කරන්න පුළුවන්ද?

එක අවස්ථාවක සර්පයෙකුට හිරිහැර කරන ළමයි කට්ටියක් දැක්ක බුදු පියාණන් වහන්සේ ඔවුන්ට අවවාද කළා. හැබැයි අද හිතාගෙන ඉන්නෙ බුදු පියාණන් වහන්සේ ගැරඬින්ට අනුකම්පා කරන්න එතනට වැඩිය කියල. උන්වහන්සේ එතනට වැඩියෙ ළමයින්ට අනුකම්පා කරල. **ආර්යෝ තිරිසන් සත්තු එක්ක ඇලෙන්නෙ නෑ. දැන් උන් තිරිසන් බවින් මුදවන්න බැරි නිසා උපේක්ෂා සහගත වෙනවා. හැබැයි මනුස්සයන් තිරිසන් බවට පත්වෙන එක වළක්වන්න ආර්යෝ උත්සාහ කරනවා.**

අද සාසනය වැහිල තියෙන්නෙ. හරක් බේරගන්නවා වගේ පින්කම් තමයි ලොකු කරගෙන ඉන්නෙ. අද ඒවා කියල දෙන්න කෙනෙකුත් නෑ. සදහටම සසර දුකෙන් අත් මිදෙන ආර්ය ධර්මයේ වටිනාකම දන්නෙ නෑ. අද මේ පුංචි පුංචි දේවල්වලට තර්ක හදාගෙන බුදු දහමේ හරය වහල දාල. ඉතින් මේ සත්ව ලෝකෙ දේවල්වලට ඇඟිලි ගහන්නෙ නැතුව, තමන්ගෙ මාර්ගය වඩා ගන්න උත්සාහ කරන්න ඕන. සසරෙදි ගනුදෙනු කරගත්ත හැටියට උන් ඒවා පියව ගනීවි. ඒකට අපි මොනවා කරන්නද? සත් පුරුෂයො කියන දේ කනකට ගන්නෙ නැතුව දස අකුසලය කරල තමයි අද සත්තු වෙලා දුක් විඳින්නෙ. ඔය විදිහට යක්කු වෙලා මල පෙරේතයො වෙලා විඳින දුක් ගිනි දැක්කොත් එහෙම මොනවා හිතෙයිද? මල පෙරේතයො විඳින දුක් ගිනි දැක්කොත් හදවත කම්පා වෙලා යනවා. ඒ වගේ සිය දහස් ගුණයකටත් වඩා නිරයෙ ඉන්න නිරි සත්තු දුක් විඳිනවා. ඒ විඳින දුක සාමාන්‍ය කෙනෙක් දැක්කොත් වික්ෂිප්ත වෙනවා. ඒවා දිවැසකට මිසක් පේන්නෙත් නෑ. දිවැසකින්වත් බලන්න එපා කියලයි කියන්නෙ. ඒ තරම් භයානකයි. මහා දරුණුයි. දරන්න බෑ. ඒ දුක් විඳින නිරි සත්තු දැක්කොත් එහෙම අපි ගිහින් යම පල්ලො එළවන්නද? අපාගත නිරි සත්තු විඳින දුකත් එක්ක සසඳනකොට තිරිසන් සත්තු විඳින දුක මොකක්ද කියල හිතෙයි. ඒ නිරි සත්ත්වයන්ව බේරගමු කියන්න කවුරුවත් ඉන්නවද? මහා ඍද්ධි බල තියෙන රහතන් වහන්සේලාවත් බුදු පියාණන් වහන්සේවත් උන්ට අනුකම්පා කරල යම පල්ලන්ව එළවල උන්ව බේරගන්න ගිහින් නෑනෙ. කරගත්ත පාප කර්මයන්ට විපාක විදිහට දුක් විඳින සත්තු දැකල මොනවා කරන්නද?

ඒවා තුලින් ලෝකයේ භයානකත්වය අවබෝධ කරගන්න ඕන. දන්න **කෙනෙකුට කියන්න තියෙන්නෙ, කෙස් ගහකවත් හිංගියක් හිංසාවක් කාටවත් කරන්න එපා කියල.** හොර මැර වංචාවන් කරන්න එපා. සුරා සූදු දුශ්චරිත කරන්න එපා. දස අකුසල් මාත්‍රයක්වත් කරන්න එපා. මේ ලැබුන මිනිසත් බවේ උපරිම ප්‍රයෝජන අරගෙන ධර්මාවබෝධය ලබල සදහටම සසර දුකෙන් අත් මිදෙන්න පාර පෙන්වනව හැර මේ මනුස්සයන්ට අපි මොනවා කියන්නද? ගේ ගිනි ගන්නකොට තැනින් තැන තියෙන රබර් ඇට කොස් ඇට වගේ දේවල් බේරගන්නෙ නැතුව, වටිනා කියන බඩු භාණ්ඩ ටික බේරගන්න උත්සාහ කරනව වගේ, හැකි ඉක්මනින් ආර්ය මාර්ගය වඩාගන්න උත්සාහ කරන්න. එතකොටයි සියල්ලන්ටම යහපතක් වෙන්නෙ.

***පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද දහම් කරුණු ඇසුරින් සකස් කළේ:***

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ - 0777 302407**



# සිත ගැන බිඳක්...

අපි හිතනවා. හිතල කියනවා. හිතල කරනවා. ඉතින් අපි මේ හිත මොන වගේද කියල වෙන් කරගන්නෙ කොහොමද? කෑම කනවා. දැන් තියෙන්නෙ කන හිත. වතුර බොනවා. දැන් තියෙන්නෙ බොන හිත. අත ඔසවනවා. දැන් ඔසවන හිත. පය ඉදිරියට ගෙනියනවා. දැන් පය ඉදිරියට ගෙනියන හිත. හිත කියල කිව්වට මේ ඔක්කොම හිත් පරම්පරාවල්. මේ විදිහට ඒ ඒ ඉරියව් ගානෙ හිත් පරම්පරා පහල වෙන බවත්, ඒ ඒ ක්‍රියාවේ නමින් ඒ ඒ හිත්වලට යන හිත, එන හිත, කන හිත, බොන හිත... ආදී නම් භාවිතා කරන බවත් කියනවා.

නමුත් අභිධර්මයේ පෙන්වා තියෙන්නෙ ප්‍රධාන වශයෙන් සිත් 89 ක්. සති පට්ඨාන සූත්‍රයෙත් ලෝභ සහගත සිත, වීත රාග සිත, ද්වේශ සිත, ද්වේශය පහ වූ සිත, මෝහ සහගත සිත, මෝහය පහ වූ සිත, හැකුලුනු සිත, විසිරුනු සිත, මහත්ගත සිත, අමහත්ගත සිත, සඋත්තර සිත, අනුත්තර සිත, සමාහිත සිත, අසමාහිත සිත, විමුක්ත සිත, අවිමුක්ත සිත... ආදී වශයෙන් සිත් බලන ආකාරය පෙන්වා තියෙනවා. ඒ නිසා සිත මොකක්ද, චෛතසික මොකක්ද කියල තේරුම් ගත්තොත් ඉතා වැදගත්.

**චෛතසික කියන්නෙ සිත සමග එකතු වූ කියන අදහස.** අපි සිත හික්මවන්න උත්සාහ නොකර චෛතසික හික්මවන්න ගියොත් ඒක කරන්නෙ කොහොමද? සිත හොයල බලල හික්මෙව්ව නම් චෛතසිකවල හික්මීම ස්වභාවයෙන්ම සිද්ධ වෙනවා. අපි චරිතය හික්මවන්න යන හැටි, එන හැටි, කන හැටි, බොන හැටි... මේවා ගැන හිතමින් ඒවා රූප විදිහට වෙන් කරන්න යාම හරිද? තමන්ට පහල වෙච්ච සිත මොන වර්ගයට අයිතිද කියල හිතමින්, ඒ සිත පහල වීමේ ආදීනව සිහි කරල, ඒ සිත නිකම්ම පහල වුනා නෙවෙයි, හේතුවක ඵලයක් විදිහට වටහාගෙන, ආදීනව විදිහට ඇතිවෙන කාම දාහය වටහාගෙන, ඒ සිත අනිච්ච නිසා මොහොතක්වත් ඒකාකාරව පවතින්නෙ නැතිව මොහොතින් මොහොත ලෝක ධර්මතාවයේ වහලෙක් විදිහට, ගොදුරක් විදිහට ආරම්භ වෙලා වහල් බවට ගොදුරු බවට පත්වෙමින් ගිහින් වැනසිලා යන චිත්ත පරම්පරාවක් නේද කියල ආදීනව දකින්න ඕන. එහෙම දැක්ක නම්, එබඳු චිත්ත පරම්පරාවක් ප්‍රිය මනාප යහපත් විදිහට ගත්තොත් ලෝක ධර්මතා ක්‍රියාවලියෙදි ඒකාන්තයෙන් වැනසීමේ දුකට පත්වෙන්න, රකින්න උත්සාහ කරමින් වෙහෙසට පත් වෙන්න, වැනසිලා ගියාම ශෝකයට පත්වෙන්න සිද්ධ වෙන නිසා, ඒ සිත් ඇසුරු කිරීම දුක් දෙන බවත්, කොච්චර රැකවරණ දම්මත්, පවත්වන්න උත්සාහ කළත්, ඒ සිත්වලට උරුම වෙච්ච ලෝක ධර්මතාවය අනුව මොහොතින් මොහොත ගෙවි ගෙවී ගිහින් වැනසීම සිද්ධ වෙන නිසාත්, කිසිම යහපතක් හරයක් ඉතිරි නොවී ගෙවිල යන නිසාත්, බලාපොරොත්තු වෙච්ච කිසිවක් අවසානයෙදි ලබා දීල නැති බව පෙනෙන නිසාත්, අනත්තයි (අනාතයි) කියල ආදීනව මෙනෙහි කරල යථාවබෝධයෙන් යුක්තව අත්හැරිල ගියා නම්, ඒ සිත සමග තිබිච්ච සියලු චෛතසික ධර්මත් අත්හැරිල යනවා.

එහෙනම් යන, එන, කන, බොන, කතා කරන, වටපිට බලන... ආදී දේ වෙන් කරන්නෙ හිත නෙවෙයිද? දැන් ප්‍රශ්නයක් මතු වෙනවා. ඒව කරන්නෙ හිතකින් තමයි. නමුත් යන හිත, එන හිත... ආදී වශයෙන් බෙදන ලද සිත් ක්‍රමයකින් නෙවෙයි. කෙනෙක් තව කෙනෙකුට පහරක් ගැහුව කියල හිතමු. පහර ගහල තියෙන්නෙ අතින්. අත් දෙක බැඳල තියල අමාරුවෙන් පහරදීම නවත්වල තියන්න පුළුවන්. හැබැයි එක දෙයක් සිද්ධ වෙනවා. අත් දෙක බැඳල තියෙන නිසා හොඳ දෙයක්වත් අතින් කරන්න බෑ. අත් දෙක නොබැඳම, පහර ගහන්න යන්න පෙර ඔහුට ඒ ඇතිවෙච්ච හිත ද්වේශ හිතක් බව දැකල දූෂ්‍ය බව නිසා පහල කරගත්ත හැටිත්, ඒකෙ ආදීනවත්, අනිච්ච දුක්ඛ අනත්ත බවත්, නිස්සාර බවත්, ඒකෙන් හට ගන්නා මතු දූෂ්‍ය බවත් වටහාගෙන අත්හරින්න හිතුව නම්, ඉන් ඉදිරියට ඒ කාරණය මුල් වෙලා කෙරෙන්න තිබිච්ච සියලු කටයුතු කෙරෙන්නෙ නැතිව යනවා. අතින් පහර ගහන්නෙ නැතිව යනවා.

මේ විදිහට සිද්ධ නොවී අත් දෙක බැඳල තිව්වත් පහර ගහන්න බැරි නිසා නොගහනව මිසක් හිත නම් ඔහුට ගහල හමාරයි. එහෙනම් ගැසීම කළේ කවුද? මනසිකාර කියන චෛතසික මුල් කරගත් කාය ප්‍රඥප්තිය. මෙනෙහි කරනවා කියනකොට අපි අද අරගෙන තියෙන්නෙ මතක් කරනවා කියන අර්ථය. මනසින් කරන නිසා ඒකත් එක අර්ථයකින් හරි. අනිත් කාරණය මේ විදිහට හිතල බලන්න සාරවත් අදහසක් පෙන්වනවා. **මතක කියන්නෙ මියගිය දේට කියන නමක් (මෘතකය).** යම් සිතක් හෝ චෛතසිකයක් හෝ අරගෙන ඒකෙ වර්තමානය බැලුවොත් චිත්තක්ෂණයක්. ඒකත් සීරුවෙන් අතීතයට යන උප්පාද, ඨිති, භංග කියන අවස්ථාවලින් යුක්තයි.

අපිට හුස්ම ගන්නව වැටහෙනවා. ඒ වැටහුනේ කොහොමද? ඒක වර්තමාන ක්ෂණය නෙවෙයි. අතීතයට මොහොතකින් ගිය ක්‍රියාවලියක මතක හෙවත් නාමරූප මියගිහින් නාම ගෝත්‍ර බවට පත්වෙච්ච ඒ මළ දෙය පිළිබඳව අතීත දැනීම් රටාවෙන් කළ දේ, මතකයෙන් කළ දේ හෙවත් මතක් කළ දේ. ඒකත් මනසින් කරපු ක්‍රියාවක්. ඒ කියන්නෙ කළා හෙවත් කළ දෙයක් විදිහට මග පෙන්වීමක්. දම් වැලක පුරුකක් අරගෙන දම් වැලක් පෙන්වන්න බෑ. ඇතට ඇමිනිලා තියෙන පුරුක් රැහැන බලන කොට දම් වැලක් පේනවා.

මේ විදිහට එක චිත්තක්ෂණයකදි ක්‍රියා මාත්‍රයක්, කතා මාත්‍රයක්, හැඟීම් මාත්‍රයක් බිහි කරමින් ඉදිරි චෛතසික ක්ෂණයට අනුබල දෙමින් ඒකකයන්ගේ රටාව තුලින් පහල කරන රටා පද්ධතිය ක්‍රියා විදිහට, කතා විදිහට, සිතිවිලි විදිහට විද්‍යමාන වෙනවා. මේ චෛතසික ක්‍රියාවලියේ මායා දර්ශනයට සිත් කියල රවටෙන්න සුදුසු නෑ. චෛතසික කියන්නෙ සිතක යෙදෙන දේ. ක්‍රියාව, කතාව මෙනෙහි කිරීම චේතනාව සතු කාර්යක් නෙවෙයි, මනසිකාරය සතු කාර්යක්. ඒකෙ චේතනා සම්බන්ධ නොවන නිසා, **ක්‍රියාව කර්මයයි නොකියම් කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා.**

දූලි පිහිය රැවුල බාන්නත් හිස කෙස් බාන්නත් ගන්න පුළුවන්. ඒ වගේම දිවි තොර කරන මාරක අවියක් විදිහටත් ගන්න පුළුවන්. මනසිකාරයත් සිතේ හට ගන්නා එබඳු උපකරණයක් වගේ. සිත් පෙළ පවත්වන ප්‍රධාන චෛතසිකය තමයි චේතනාව (චිත්තය තනා දෙනවා.). මනසිකාරයෙන් සිදු කරන කටයුතු තමයි චේතනාවේ හෙවත් ප්‍රධාන අදහසේ ආකාරයට පින් හෝ පව් සිදු කරන්න ක්‍රියා කිරීම.

ගතියට අනුව අරමුණු ගැටීම්වලදී හැඟීම් පහල කරනවා. චේතනාව ඒ හැඟීම් අනුව කටයුතු කරන්න මනසිකාරය උපයෝගී කරගන්නවා. හැඟීම් මතුවෙනකොට ඒක රාගික නම් රාග සිත් කියල හඳුන්වනවා. හැඟීම ද්වේශ මූලික නම් ද්වේශ සිත් කියල හඳුන්වනවා. මෝහ මූලික නම් මෝහ සිත් කියල හඳුන්වනවා. මේ හැඟීම් සමග හට ගන්නා ප්‍රධාන අදහස හෙවත් චේතනාව යම් මොහොතක ආරම්භ වෙනවද, ඒ සිත් පරම්පරාවකින් යුතුව සිත් වර්ගයක පටන් ගැන්ම වෙනවා. හැඟීම බලවත් වෙලා යමක් යම් අරමුණක් කරා ගෙන යන විදිහට අදහස් හෙවත් චේතනා පිහිටෙව්වොත්, ඒ අරමුණට ක්‍රියා කරන්න අදහස තියෙන තාක් කල් ඒක එක චිත්තයක් හෙවත් සිත් වැලක් වෙනවා. ඒ නිසා මෙබඳු සිතක් හෙවත් සිත් වැලක් සුළු මොහොතක පටන් බොහෝ කාලයක් වුනත් පවත්වන්න පුළුවන්.

ඒ පවතින කල් මනසිකාර චෛතසික ක්‍රියාව උදව්වට ගනිමින් සිතින් කයින් වචනයෙන් කටයුතු කරගෙන යනවා. මේ විදිහට කරන කටයුතුවලදි මනසිකාර චෛතසිකයේ ප්‍රයෝජන ගැනීමේ ස්වභාවයට අනුව කතා කිරීම්, යාම් ඊම්, නොයෙක් ක්‍රියා සිද්ධ වෙනවා. එතකොට හොඳ සිතක් නම් හොඳ අතටත්, නරක සිතක් නම් නරක අතටත් ක්‍රියා කරනවා. **මේ ක්‍රියාවට අනුව සිත් වෙනස් වෙනව නෙවෙයි. සිතට අනුව චෛතසික ක්‍රියා වෙනස් කරල සිත් වෙනස් කරගන්න මග පාදා ගන්න පුළුවන්.** ඒ නිසා රාග සිතක් නැගුන නම් බලාපොරොත්තුව හෙවත් චේතනාව යම් අරමුණක් ඉටු කරගන්න පෙළඹනෙවද, ඒ බලාපොරොත්තු ඇති තාක් හෙවත් චේතනා ඇති තාක් මනසිකාර අනුරූපව ක්‍රියාත්මක කරමින් ක්‍රියා, කතා, සිතිවිලි, ඇති කරවනවා.

ගතිය යම් දවසක නැති වුනාද, එතකොට මතු පහල කිරීම සිද්ධ වෙන්නෙ නෑ. ගතිය තියෙනවද, එතකොට භවය හෙවත් අරමුණු ස්පර්ශයට සුදුසු විදිහට මතු පහල කිරීම සිද්ධ වෙනවා. ඒ ස්පර්ශය හටගන්නකොටම අනුකූල හැඟීම හෙවත් හිතක් පහල වෙනවා. ඒ සමග අදහස් කරනවා, හෙවත් චේතනා නැගෙනවා. ආසාව සමග බැඳීම නිසා අදහස බලාපොරොත්තුවක් වෙනවා. බලාපොරොත්තු යම් ප්‍රතිඵලයක් කරා ඉලක්කයක් අරමුණු කරනවා. ඒ සිත් පෙළ වෙනස් ගතියකින් වෙනස් නොකෙරෙන කල් ඒ සිත් පෙළම වෙනවා. නමුත් කටයුතු විවිධාකාර වෙන්න පුළුවන්. අඩු වැඩි වෙන්න පුළුවන්. යාම් ඊම්, කතාබහ, විවිධාකාරයෙන් පහල කරවන්න පුළුවන්. නමුත් සිත් පෙළ බලාපොරොත්තු වෙච්ච ඉලක්කය කරා යන්න හිත තියෙන කල්, අතර මගක වෙනස් නොවෙන කල් පවතිනවා.

රාග ගතිය තියෙනකොට අනුරූප නිපැයුම් පහල කිරීම ගතියේ ශක්තියෙන් සිද්ධ වෙනවා. අරමුණු අනුරූප විදිහට ස්පර්ශ වෙන්න සලස්වනවා. ස්පර්ශ වෙනකොට අනුකූල රාග සිත හෙවත් රාග හැඟීම මතු වෙනවා. චේතනාව, ඇලීම හෙවත් ආසාව සමග එකතු වෙලා බලාපොරොත්තුව හට ගන්නවා. රාග හැඟීම බලාපොරොත්තුව ඉටු කරන්න එකතු වෙලා යම් තාක් පවතිනවද රාග සිත ඒ තාක් පවතිනවා. චෛතසිකයෝ අනුරූපව ක්‍රියා කරනවා. මනසිකාරය ක්‍රියා කලාප විද්‍යමාන කරනවා. ක්‍රියා කලාප සිත නෙවෙයි, චෛතසික ධර්ම මුල් වෙච්ච දෙයක්.

මගඵල නොලබපු හැම පුද්ගලයෙක්ම සංසාර ගමනෙදි අවිද්‍යාව හෙවත් නිච්ච, සැප, අත්ත ලෙස අරගෙන ලෝක තලයේ කාම භවය, රූප භවය, අරූප භවය කියන භව තුනෙන් එකක පිහිටල ඉන්නවා. මේ භව කියන එකට ගති කියලත් කියනවා. භව හෙවත් ගති තියෙනකොට ඒ ගතිය හැමවිටම උපාදානය හෙවත් අල්ලගත්ත බදාගත්ත ස්වභාවයෙන් යුක්තයි. මේ ගතිය හෙවත් භව හැමවිටම අනුකූල ධර්මයන් නිපදවනවා, ඒවා ඇදල ගන්නවා. ඒවා නිසා ලෝකයේ ආපෝ ධාතු, තේජෝ ධාතු, වායෝ ධාතු, පඨවි ධාතු, ආකාස ධාතු, විඤ්ඤාණ ධාතු කියන නාම හා රූප හට ගන්වන මූල ධාතුන් මගින් පහල කිරීම සිද්ධ කරනවා. ඇසත් රූපයත්, කනත් ශබ්දයත්, දිවත් රසයත්, නාසයත් ගන්ධයත්, ශරීරයත් ස්පර්ශ ද්‍රව්‍යත්, මනත් ධර්මයෝත් මේ විදිහට පහල කරන්නෙ, නැති දේකින්වත් ලෝකයට අලුතින් පහල කරපු අලුත් දේකින්වත් නෙවෙයි, මූල ද්‍රව්‍ය හා සදාතනික මූල ධර්මයන්ගෙන්. මේ විදිහට සිද්ධ වෙන භව හෙවත් හට ගැන්වීම අපි දැනගෙන හිටියත් නැතත්, අපි යම් භවයක හිටිය නම් ඒ ශක්තියට අනුරූප වූ ජාති හට ගන්නවා.

යම් පැවැත්මක් කෙරෙහි අදහසක් ඇලීම් බැඳීම් සහිතව පවතින නිසා ඒක කාම සහගත නම් කාම භවකුත්, රූපාවචර නම් රූප භවකුත්, අරූපාවචර නම් අරූප භවකුත් හැම කෙනෙකුටම හැමවිටම තියෙනවා. භව නිසා ජාති හට ගැනීම උරුම වෙනවා. මේ කිසි භවක් නැත්ද භව නිරෝධයි. එතකොට ජාති නිරෝධ වෙනවා. ඒ කියන්නෙ නිවන.

කාම හැඟීමක් ඇති වුනා නම් ඒ කාම හිතක්. ඒ හැඟීම එනකොටම යම් අදහසක් මතු වෙනව නම්, ඒ ගැන සෝදිසියෙන් ඉඳල ඒ හැඟීමේ නිස්සාර බව ☞



# සසර පැවැත්මට බැඳුන සිත් පහල කරමින් සත්ත්වයා ආස්වාද සොයන්නේ ඇයි?

ආස්වාදය කියන්නෙ දාහයෙන් මිදෙන්න කරන උත්සාහයන්. අපි පුටුවක වාඩි වුනා කියල හිතන්න. හොඳට සුවසේ ඉඳගෙන, දැන් හරි සැහැල්ලුයි සනීපයි කිය කියා හිතන හැටි සිහි කරල බලන්න. ඒත් පැය කාලක් යන්නත් කලින් ඒ ඉරියව්ව වෙනස් කරන්නෙ ඇයි? සුවය ලබන්න. දැන් වෙනස් අතකට හැරිල සුවයක් හොයනවා. එතකොට පළමුව ඉඳගත්තම සුවයි කිව්ව නේද? පසුව ඉරියව් වෙනස් කළෙත් නැවතත් සුවයක් හොයාගෙන නේද? නමුත් පළමු ඉඳගත් අවස්ථාවෙ සුවය හොයාගන්න ඉරියව් වෙනස් කළේ නැත්තෙ ඇයි? ඒ මොහොතෙම දාහයක් තිබුනෙ නැති නිසා. එහෙනම් දුක් වේදනා දැනෙනකොට ඉරියව් වෙනස් කළේ සුවය හොයාගෙනද, නැත්නම් වේදනාව ඉවසන්න බැරිව නැති කරගන්නද? හොඳින් හිතල බලන්න.

විදුලි පංකාවක් දාගෙන හෝ වායු සමනය කරපු කාමරයක හෝ සැප නින්දේ නිදි ඇඳක ඉන්න කෙනෙක් ගැන හිතන්න. ඔහුට ලැබෙන සුවය මොකක්ද? උෂ්ණය නිසා තිබිච්ච දාහය සිසිල් තැනකට ගිහින් සංසිඳව ගන්නව මිසක්, කය දරාගෙන ඉන්නකොට දැනෙන දාහය කුෂන් මෙට්ටයක සැතපිලා සංසිඳව ගන්නව මිසක්, ඔහු ලබන සුව විඳීම මොකක්ද? විදුලි පංකාව හෝ වායු සමනය කරල තිබීම හෝ දාහයට පිළිසරණක් වුනා මිසක් සුවයක් ගෙනත් දුන්නද? එහෙම සුවයක් දෙනව නම් අධික සීතල රාත්‍රියක හෝ උණ ගැනිල සීතලෙන් වෙවුලමින් ඉන්න වෙලාවක හෝ විදුලි පංකාව, ඒ වායු සමනය කරපු කාමරය සැප ගෙනත් දෙනවද? එතකොට ඒක තවත් සීතල කරන නිසා දාහයක්ම ඇති කරන බව පැහැදිලියි.

**යමෙකුට තද උෂ්ණය නිසා මහත් දාහයක් පවතිනකොට සිසිල් ජලය හරි සනීප දෙයක් විදිහට වැටහෙනවා. නානකොට තමන්ට පිනක් පෑදුනා වගේ හිතෙනවා. ඒ තරම් සුවයක්. හැබැයි ඔහුට අධික සීතල දවසකත් ඒ විදිහටම නාන්න සැලැස්සුව නම් ඒ සිසිල් ජල කඳම මහත් දුකක් විදිහට දැනෙනවා. එහෙනම් සිසිල් ජල කඳ සුව දුන්නද, නැත්නම් උෂ්ණය ඉවසගන්න බැරි තරමට කයට තිබිච්ච දාහය නිවිල ගිය නිසා සුව විදිහට වැටහුනාද?**

කාමාතුර ස්ත්‍රී පුරුෂ තරුණ තරුණියන් දෙන්නෙක් එකතු වෙලා කාම සම්භෝගයකදී මහත් ආස්වාදයක් ලැබුන කියල හිතනවා. ඒත් ඒ අවස්ථාව අවසන් වෙච්ච මොහොතේ කොහොම හිතයිද? ඒ මොහොතේ ගති ස්වභාවය ඔවුන්ගෙ ජීවිත කාලයටම උරුම වුනා නම්, කාම සම්භෝගයේ ආස්වාදයක් තියෙන බවක්වත් හිතයිද? මෙතැනදිත් සිද්ධ වෙන්නෙ, කාම ගින්නේ දාහය නිසාම අසුරු කරන කාමය මහත් සැපක් විදිහට දැනීම. **යම් දෙයක් අසුරු කිරීම මහත් ආස්වාදයක් විදිහට දැනෙනවද, ඒ තරමටම ඒ පුද්ගලයා මහා දාහ ගින්නකින් දැවෙමින් පසුවෙනවා. හරියට තුවාලයක්, වණයක් වගේ.**

එහෙනම් සත්ත්වයා මේ භවයේ සැප විඳිනවා නෙවෙයි. දාහ ගින්නට පිළියම් සොයන බව නුවණින් බලනකොට වැටහෙනවා. මනුස්සයෙක් නම් උදේ නැගිට්ට වෙලේ ඉඳන් කරන්නෙ ඕක තමයි. සම්පත් සහිත ලෝකය අතහැරල නිවනේ මොන සැපක්ද කියන හැඟීම බොහෝ අයට තියෙන ප්‍රශ්නයක්. පිපාසිත දුක්ඛිතයාට ජලය දකිනකොට පානය කරන්න මහත් රුචියක් ඇතිවෙනවා. ඒ මොහොතේ ඔහුට ජලය අසීමිත ආස්වාදයක්. ජලය ගැලුමක් ලැබුනත් බොනවා කියන තරමට ජලයට ඇල්මක් ඇතිවෙනවා. නමුත් බිඳක්වත් පිපාසය නැති කෙනෙකුට ඒ මොහොතේ ජලයේ වටිනාකමක්, ආස්වාදයක් දැනෙනවද?

මේකෙන් පේන්නෙ, දාහ ගින්නෙන් දැවෙන තෙක් උත්සාහ කරන්නෙ ඒ දාහය පහ කරගන්න බව. නැත්නම් නිවෙන්න. නමුත් වටහා ගන්න පුළුවන් නම් එයින් එහාට අදහස් එන්න ඉඩ නොදී බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ මෙනෙහි කරනකොට ඒ සිතට චේතනාවට ඉඩ නැතිවෙනවා. නුවණ ප්‍රඥාව බලවත් වෙනවා. ප්‍රඥා චෛතසිකය රාග, ද්වේශ, මෝහ මුල්වලින් තොර නිසා භව සිත් පහල කරන්නෙ නෑ. භව සිත්වලට හේතු නැතිවෙනකොට භව නිරෝධ වෙනවා. මේ විදිහට වඩන චිත්තානුපස්සනාව ඉතා පහසු නිවන් මගක්. ලෞකික අරමුණක සිත බඳින්නෙ නැතිව විරාග නිශ්‍රිතව නිරෝධ නිශ්‍රිතව කටයුතු කරනකොට ආර්ය සමතයත් විදර්ශනාවත් වැඩෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# භවයෙන් භවයට යන නොදැනුවත් බව...

**ශ්‍රාවක** : නිවන් මගට පිවිසෙන්න පුළුවන් ක්‍රමවේදයන් ගැන තමයි අපි මේ සාකච්ඡාවෙන් දිගින් දිගටම කතා කළේ. තවත් ඒ වගේ ක්‍රමවේද තියෙනවද?

**දේශක** : ඕන තරම් තියෙනවා. මුළු ත්‍රිපිටකය පුරාම තියෙන්නෙ නිවන් දකින ක්‍රමවේදයන්ම තමයි. අද බලාපොරොත්තු වෙන්නෙත් ඒ වගේම ක්‍රමයක් ගැන කතා කරන්න. මේ ක්‍රමය තියෙන්නෙ සම්මා දිට්ඨි සූත්‍රයේ (මජ්ජිම නිකාය 1 - 119 පිටුව) මේ ක්‍රමවේදයත් කියල දෙන්නෙ අපේ සැරියුත් මහ රහතන් වහන්සේම තමයි. ත්‍රිපිටකයේ සිංහල පරිවර්තනයේ ඒ ගැන සඳහන් වෙන්නෙ මේ ආකාරයට.

"යම් කලෙක පටන් ආර්ය ශ්‍රාවක තෙමේ භවයත් දනීද, භව සමුදයත් දනීද, භව නිරෝධයත් දනීද, භව නිරෝධ ගාමිණී පටිපදාවත් දනීද, ඇවැත්නි මෙතකිනිදු ආර්ය ශ්‍රාවක තෙමේ සම්මා දෘෂ්ටික වෙයි. ඔහුගේ දෘෂ්ටිය ඍජු වෙයි. ධර්මයේ ගුණ දන පැහැදීමෙන් යුක්ත වූයේ මේ නිර්වාන ධර්මයට පැමිණියේ වෙයි."

**ශ්‍රාවක** : ඒ කියන්නෙ භවය පිළිබඳව ඔය ක්‍රමවේදයට දැනගත්ත කෙනා මේ නිවන් මගට පිවිසිලා ඉන්නවා කියන එක නේද? එහෙමත් නැත්නම් මාර්ග ඵලයකට පත් වුනා කියන එකම නේද මෙතනදී අදහස් කරල තියෙන්නෙ?

**දේශක** : ඔව් ඒක හරි, එහෙම තමයි සම්මා දෘෂ්ටියට පත්වෙන එක තේරුම් ගන්න ඕන. ඒ වගේම අරි අට මග අනුගමනය කරන කෙනෙක් බවට පත් වුනා කිව්වත් හරි. සතර අපායෙන් නිදහස් වෙච්ච කෙනෙක් කියල කිව්වත් හරි.

**ශ්‍රාවක** : සමුදය, නිරෝධ, නිරෝධ ගාමිණී පටිපදාව කියන ක්‍රමවේදය චතුරාර්ය සත්‍යයට සම්බන්ධ එකක් නේද?

**දේශක** : බොහොම හොඳ ප්‍රශ්නයක් ඔබ ඇහුවෙ. ඔය ක්‍රමවේදය තමයි මේ මුළු ශ්‍රී සද්ධර්මයම වටහාගන්න භාවිතා කළ යුතු එකම ක්‍රමය. ඔබ මේ ධර්මය වටහා ගන්න උත්සාහ කරන අවස්ථාවලදී පැන නගින ඕනෑම ගැටළුවක් විසඳා ගත යුත්තෙ මේ ක්‍රමයටමයි. ඒක අපිට මේ විදිහට සරලව කියන්නත් පුළුවන්.

නිවන වටහාගන්න බැරි නිසා දාහ ගින්නේ ඉන්න කෙනාට ජලයම පිළිසරණ විදිහට පේනවා මිසක්, ජලය පානය නොකර ඒ දාහය සහමුලින්ම ඇරෙන ක්‍රමයක් කිව්වත්, ඔහු හිතන්නෙ ජලය පානය කිරීමෙන්ම ආස්වාදයක් ලබන්න. ආස්වාදයට හේතුව දාහයෙන් පෙළීම බව වැටහුනා නම් ඒ දාහ නිවන මග සියලු ආස්වාදයන්ගෙන් පරිපූර්ණ වෙලා හමාර බවට වැටහෙන්න ඕන. මෙතෙක් කල් සසරේ හොයපු ආස්වාදයන්ගේ සියලු භුක්ති විඳීම්වලින් ලබපු තෘප්තිය හෙවත් සංසිඳීම් සියල්ල තව දුරටත් භුක්ති විඳින්න ආසා නොවීම නේද කියල වැටහුනා නම් නිවනේ සුවය මොකක්ද කියල වැටහෙන්න ඕන.

මේ සත්‍යතාවය වටහාගන්න සිත ප්‍රභාෂ්වර බවට පත් කරගන්නව නම් ඉතා පහසුයි. "පභස්සර මිදං භික්ඛවේ චිත්තං" කියන මේ ප්‍රභාෂ්වර සිත කියන්නෙ භවාංග සිතයි කියල සමහරු කියනව අහන්න ලැබෙනවා. භවාංග සිත කියන්නෙ භවයට අංග වූ සිත් පරපුර. භවය තිරිසන් වුනොත් භවාංගයත් තිරිසන් ගති ගන්නවා. මනුස්සයෙක්ගෙ නම් මනුස්ස ගති ගන්නවා. එබඳු භවාංග සිත ප්‍රභාෂ්වරද? සාසනික හෙවත් ආර්ය චතුර්ථ ධ්‍යාන සිත නම් ප්‍රභාෂ්වරයි. ඒකෙ නම් ආගන්තුක උපක්ලේශ නෑ. අවිද්‍යා අනුශයෙන් තොරයි.

බෝසතාණන් වහන්සේ බුදු වෙන පළමු යාමයේ ආනාපානසති භාවනාවෙන් චතුර්ථ ධ්‍යානයට පත්වෙලා සිත ප්‍රභාෂ්වර වුනාම, පෙර විසූ කඳ පිළිවෙල දකින නුවණට සිත මෙහෙයෙව්ව බවත් සඳහන් වෙනවා. මේකෙන් පෙනී යන්නෙ ප්‍රභාෂ්වර සිත භවාංග සිත නොවන බව, නිවන නොවන බව. ඒ නිසා වැරදි ආකල්පයන්ගෙන් මිදිල සිත ගැන වටහා ගනිත්වා... !

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත මතු කරන ලද සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

ප්‍රශ්නය, ප්‍රශ්නයට හේතුව, ප්‍රශ්නයට විසඳුම, ප්‍රශ්නයට විසඳුම ලබා ගැනීමට අනුගමනය කළ යුතු පියවර

**ශ්‍රාවක** : බුදු රජාණන් වහන්සේ ඕනම ප්‍රශ්නයක් විසඳගන්න පුළුවන් ක්‍රමයක් නේද මේ ආකාරයට පෙන්වල තියෙන්නෙ?

**දේශක** : හරියටම හරි. බුදුරජාණන් වහන්සේ විවිධ ආකාරයෙන් මේ ධර්මය දේශනා කරල තිබුනත්, ඒ හැම අවස්ථාවකදිම දැකිය යුතු සත්‍යය චතුරාර්ය සත්‍යයම තමයි. අනිත් එක චතුරාර්ය සත්‍යය හැර වෙනත් සත්‍යයක් ලෝකයේ නෑ.

**ශ්‍රාවක** : මෙතනදි අනුගමනය කළ යුතු පියවර අනිවාර්යෙන්ම ආර්ය අෂ්ඨාංගික මාර්ගයම වෙනව නේද?

**දේශක** : ඔව් ඒක ඇත්ත. හැබැයි අමතක කරන්න එපා, ආර්ය අෂ්ඨාංගික මාර්ගය කියල අපි කිව්වට, පැහැදිලිවම බුදු රජාණන් වහන්සේ විසින් ඒ කාරණය තුන් ආකාරයකට විග්‍රහ කරල තියෙන බව. ඒ තමයි ලෝකෝත්තර අරි අටඟි මග. ඒක තියෙන්නෙ නිවන් දකින අයට විතරයි. ඊළඟට ලෞකික අරි අටඟි මග. ඒක මේ ලෝකයේ හොඳින් ඉන්න පුළුවන් එකක්. ඒකෙන් නිවන් දකින්න බෑ. අනික මිත්‍යා අට මගක්. ඒකෙන් කෙලින්ම සතර අපායට තමයි යන්න වෙන්නෙ. මේ ගැන මහා <u>චත්තාරීක සූත්‍රයෙත්</u> (මඃනිඃ2-212 පිටුව) තවත් සූත්‍ර ගණනාවකත් විස්තර කරල තියෙනවා.

**ශ්‍රාවක** : එහෙම ආකාර තුනක් තියෙන බවක් නම් හුඟ දෙනෙක් දන්නෙ නෑ. පුදුම වැඩේ කියන්නෙ, කෙලින්ම අපායට යන එකකුත් තියෙනවනේ. පිරිස අනුගමනය කරන්නෙ මොන එකද කියන එක නම් ඉක්මනින්ම විසඳගන්න ඕන ප්‍රශ්නයක්.

**දේශක** : ඔව්. ඒක සහතික ඇත්ත. කවුරු කවුරුත් මේක ඉක්මනින්ම විසඳ ගත්තොත් හොඳයි. නැත්නම් ඉතින් කොහේ යයිද කියල කාටද කියන්න පුළුවන්? මෙතනදි අපි ඔය ක්‍රමවේදය භාවිතා කරන්න ඕන භවයන් පිළිබඳ තියෙන ප්‍රශ්නය විසඳ ගන්න. මෙතනදි අපිට විසඳ ගන්න තියෙන ප්‍රශ්නය තමයි භවකට පත්වෙන එක. සම්මා දිට්ඨි සූත්‍රයේ භවයන් තුනක් ගැන සඳහන් කරල තියෙනවා.

**ශ්‍රාවක** : කාම භව, රූප භව, අරූප භව ගැන නේද ඔය කියන්නෙ?

**දේශක** : ඔව්. අපිට මේ තුන් භවය 31 භවයකට බෙදලත් ගන්න පුළුවන්.

**ශ්‍රාවක** : ඒ කිව්වෙ මේ ලෝකෙ සත්වයන් ජීවත් වෙන තල 31 ට අදාළ භවයන් 31 ඔය කියන තුන් භවයට අයිතියි කියන එකම නේද?

**දේශක** : හරියටම හරි. අපාය 4 යි, මනුස්ස ලෝකයයි, දිව්‍ය ලෝක 6 යි අයිති වෙන්නෙ කාම භවයට. රූපාවචර බ්‍රහ්ම ලෝක 16 අයිති වෙන්නෙ රූප භව කියන තත්ත්වයට. ඒ වගේම අරූපාවචර බ්‍රහ්ම ලෝක 4 අයිති වෙන්නෙ අරූප භව කියන තත්ත්වයට. ඔය ආකාරයට තමයි තුන් භවය 31 භවයකට බෙදිල යන්නෙ.

**ශ්‍රාවක** : එතකොට මේ 31 තලයට අයත් භව 31 ම හැදෙන හැටි දන්නව නම්, ඒ විදිහට ඒ ඒ භවට පත්වෙන හේතුව දන්නව නම්, ඒ භවයන් නිරෝධ කරන ක්‍රමය දන්නව නම්, ඒවා නිරෝධ කරන්න අනුගමනය කළ යුතු ප්‍රතිපදාව දන්නව නම්, ඒ පුද්ගලයා සම්මා දිට්ඨියට පත්වෙලා කියල තමයි අර සූත්‍රයෙන් අපිට පෙන්වල දීල තියෙන්නෙ.

**දේශක** : ඒක ඇත්ත තමයි. හැබැයි මෙතනදිත් අපිට මුලින්ම විසඳා ගත යුතු ගැටළුවක් තියෙනවා සිංහල පරිවර්තනයේ. "ඒ ගැන දන්නව නම්..." කියල ලියල තිබුනට, පාළියෙන් එතන සඳහන් වෙලා තියෙන්නෙ පජානාති... කියල.

**ශ්‍රාවක** : දන්නව කියන එකෙයි, පජානාති කියන එකෙයි තියෙන වෙනස ගැන අපි සෑහෙන්න කතා කරල තියෙනවා. මෙතනදි කරන්න තියෙන්නෙ මේ ගැන ප්‍රඥාවෙන් දැකීම. එහෙම නැතිව ඕක දැනගත්ත කියල සම්මා දිට්ඨියට පත්වෙන්නෙ නෑ.

**දේශක** : භවංච පජානාති, භව සමුදයංච පජානාති, භව නිරෝධංච පජානාති, භව නිරෝධ ගාමිණී පටිපදංච පජානාති කියල තමයි පාළියෙන් විග්‍රහ කරල තියෙන්නෙ. ඒ නිසා අපි මේ ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කරමින් සාමාන්‍ය ජීවිතය ගත කරනකොට ඒ ඒ අවස්ථාවෙදි ඒ ඒ භවට පත්වෙන බව ප්‍රඥාවෙන් දකින්න ඕන.

**ශ්‍රාවක** : එහෙම කරන්න නම් මේ භවයන් ගැනයි, ඒ ඒ වෙලාවන්වලදි ඒ ඒ භවට පත්වෙන එක ගැනයි ගැඹුරු විග්‍රහයක් අවශ්‍ය වෙනවා. හැබැයි අපිට හොඳට තේරුම් ගන්න පුළුවන් සරල ක්‍රමයකින් කියල දෙන්න වෙයි.

**දේශක** : හරි අපි උත්සාහ කරල බලමු අපි කාට කාටත් තේරෙන ක්‍රමවේදයකින් මේ ගැන විස්තරාත්මකව පැහැදිලි කරගන්න. ඒකට අපිට පටිච්ච සමුප්පාද න්‍යායට අනුව භවට පත්වෙන ආකාරය වටහගන්න අවශ්‍ය වෙනවා. ඔබ පටිච්ච සමුප්පාද න්‍යාය ගැන සාමාන්‍යයෙන් දැන් දන්න නිසා මේ ප්‍රශ්නවලට පිළිතුරු දෙන්න උත්සාහ කරන්න. ඒ අනුව භවකට පත්වෙන්න මුල් වෙන හේතුව මොකක්ද?

**ශ්‍රාවක** : උපාදාන කර ගත්තොත් තමයි භවකට පත්වෙන්නෙ.

**දේශක** : උපාදානයට හේතුව?

**ශ්‍රාවක** : තණ්හාව. තණ්හාවටත් හේතුවක් තියෙනවා. ඒ තමයි විඳීම. එහෙම නැත්නම් වේදනාව.

**දේශක** : විඳීමට හේතු වෙන්නෙ මොකක්ද?

**ශ්‍රාවක** : ස්පර්ශය.

**දේශක** : ඒ ස්පර්ශය සංස්පර්ශයක් විය යුතුයි. ඒ කියන්නෙ රාගයෙන් හෝ ද්වේශයෙන් හෝ මෝහයෙන් හෝ හදාගත්ත එකක්. ඒ වගේ සංස්පර්ශයකින් සැප, දුක්, උපේක්ෂා කියල විඳ ගැනීම් තුනක් ලැබෙනවා.

**ශ්‍රාවක** : සංස්පර්ශයට හේතු වෙන්නෙ සළායතන. ඒ කියන්නෙ ඇස, කන, නාසාදී ඉන්ද්‍රියන් ආයතන බවට පත් කර ගැනීම

**දේශක** : ඔව්. සළායතනවලට හේතුව මොකක්ද?

**ශ්‍රාවක** : නාම රූප. නාම රූපවලට හේතු වෙන්නෙ විඤ්ඤාණ. විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් තමයි නාම රූප නැගෙන්නෙ.

**දේශක** : අවිද්‍යාවෙන් කරන සංඛාර නිසා තමයි විඤ්ඤාණයක් හදා ගන්නෙ. දැන් ඔබට පැහැදිලි වෙයි, අවිද්‍යාව නිසා මේ ආකාරයට පටිච්ච සමුප්පන්නව තමයි භවකට පත්වෙන්නෙ කියල.

**ශ්‍රාවක** : දැන් ඔය විදිහට භවකට පත්වෙන බව දැන ගත්තම, ඒ කියන්නෙ භවංච පජානාති කිව්ව ආකාරයට භවකට පත්වීම ☞

ගැන ප්‍රඥාවෙන් දැක්ක කෙනෙක් බවට පත්වෙනවද?

**දේශක** : ඉතාමත් හොඳ ප්‍රශ්නයක්. පටිච්ච සමුප්පාද න්‍යාය පොතකින් බලාගත්ත කෙනෙකුට වුනත් ඔය විදිහට ගලපල මේක දැනගන්න පුළුවන්. ඇත්තටම මෙතනදි විය යුත්තේ ඒක නෙවෙයි.

ඔය පටිච්ච සමුප්පාදය බුදු රජාණන් වහන්සේ ඔය ආකාරයට පියවරෙන් පියවර විග්‍රහ කරල තිබුනට, අපිට ඔය එක පියවරක්වත් දකින්න පුළුවන්කමක් නෑ. ඉතාමත්ම කුඩා කාලයකින්, ඒ කියන්නෙ තත්පරයකින් කෝටියකින් පංගුවටත් වඩා ඉතා සුළු කාලයකින් ඔය සියල්ල සිද්ධ වෙනවා.

**ශ්‍රාවක** : එහෙනම් අපි කොහොමද ඔය හවට පත්වීම ගැන පජානාති ක්‍රමවේදයට අවබෝධ කරගන්නෙ?

**දේශක** : හරි. ඒ සඳහා අපි උත්සාහ කරල බලමු. මුලින්ම ඔබ වටහාගන්න ඕන ඒ කාරණය තමයි. මේ සියල්ල වෙන්නෙ, අපි මේ ලෝකයේ තියෙන රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කරනකොට. ඔබ අත්දැකීමෙන්ම දන්නවා, ලෝකයෙන් ඔබට අරමුණු තුනක් ලැබෙනව කියල. ඒ කියන්නෙ ඔබ කැමති අරමුණු, අකමැති අරමුණු, උපේක්ෂා අරමුණු. මේ ආකාරයට ලැබෙන අරමුණු හමුවේ ඔබට මොකක්ද සිද්ධ වෙන්නෙ?

**ශ්‍රාවක** : කැමති ඒවායින් රාගයෙන් සුව විඳිනවා. අකමැති ඒවායින් ද්වේශයෙන් දුක් විඳිනවා. ලෞකිකව ගත්තොත්, උපේක්ෂා ඒවායින් මෝහයෙන් උපේක්ෂා විඳ ගන්නවා.

**දේශක** : ඒ අරමුණට අනුව ඔබ රාග බවට, ද්වේශ බවට හෝ මෝහ බවට පත්වෙනවා. මේ තුන් ආකාරය 6 ආකාරයකින් විග්‍රහ කරන්න පුළුවන්. ඒ තමයි ලෝහ, ද්වේශ, මෝහ බව සහ අලෝහ, අද්වේශ, අමෝහ බව. ඒ ආකාරයට බෙදා ගත්තම ඔබටම පැහැදිලිව වටහා ගන්න පුළුවන් වෙනව නේද?

**ශ්‍රාවක** : ඔව්. ලෝහ, ද්වේශ, අලෝහ, අද්වේශ අපිට අත්දැකීමට ගන්න පුළුවන්. නමුත් මෝහයයි, අමෝහයයි තමයි තේරෙන්නෙ නැත්තෙ.

**දේශක** : ඒක ඇත්ත. මෝහය හරිම සියුම්. ඒ නිසා වැටහෙන්නෙ නෑ. නමුත් මෙහෙම හිතා ගන්න. ඔබ ලෝහ බවට හෝ ද්වේශ බවට හෝ පත්වෙලා නම් ඉන්නෙ, ඒ මෝහ නිසා තමයි. ඒ වගේම ඔබ අලෝහ බවට හෝ අද්වේශ බවට හෝ පත්වෙලා නම් ඉන්නෙ, ඒ ඔබ අමෝහ නිසාම තමයි. හැබැයි ලෝකෝත්තර අර්ථයෙන් අමෝහ කියල කියන්නෙ ඔය කියපු ලෝහ, ද්වේශ, මෝහ සහ අලෝහ, අද්වේශ, අමෝහ කියන හේතු හයෙන්ම මිදිල ඉන්න තත්ත්වයට.

**ශ්‍රාවක** : ඒ ආකාරයට පැහැදිලි කරගත්තම නම් මෝහයයි අමෝහයයි තේරුම් ගන්න පුළුවන්. අපි ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කරත්දි ඔය කියන විදිහට 6 ආකාරයකින් හවකට පත්වෙනව කියල කිව්වොත්, එතකොට 31 තලයට අදාළ හවවලට මේ හේතු හය සම්බන්ධ කරගන්නෙ කොහොමද?

**දේශක** : ඒකට අපිට බුදු රජාණන් වහන්සේගේ සූත්‍ර දේශනාවලින් උදව් ගන්න වෙනවා. අංඃනිඃ 1 කාණ්ඩයේ මහා වග්ගයේ 527 පිටුවේ පෙන්වා තියෙනවා, ඔබ හිතන කියන කරන ඒවා අකුසල නම් හතර අපායේ තියෙන දුගති හව, හව 4 න් එකකට පත්වෙනව කියල. ඒ වගේම හිතන කියන කරන ඒවා කුසල නම් සුගති හවයන් වන මනුස්ස හවයි, දේව හවයි, බ්‍රහ්ම හවයි කියන 3 න් එකකට පත්වෙන්න පුළුවන් කියලත් තියෙනවා.

**ශ්‍රාවක** : ඒ කියන්නෙ අපි රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කරල අවිද්‍යාවෙන් හිතන කියන කරනකොට ඒවා කුසල වුනොත් ඒ ඒ අවස්ථාවලදි අපිට මනුස්ස බවට, දේව බවට, බ්‍රහ්ම බවට පත්වෙන්න පුළුවන්. එතන තියෙනවා දේව හව 6 කුත්, බ්‍රහ්ම හව 20 කුත්, මනුස්ස හව 1 කුත්. එතකොට ඔක්කොම 27 යි.

**දේශක** : අවිද්‍යාවෙන් රූප ඇසුරු කරල හිතන කියන කරන ඒවා අකුසල නම්, ඔබට අපාය කියන හතර ආකාර හවකට පත්වෙන්න පුළුවන්. ඒ කියන්නෙ විනිපාතික අසුර හව, ප්‍රේත හව, තිරිසන් හව, ගිනි අපාය හව කියන හතර.

**ශ්‍රාවක** : හරි දැන් තේරුනා. එතකොට හව 31 ම ලැබෙනවා. ඔය කුසල හවයි, අකුසල හවයි, ලෝහ, ද්වේශ, මෝහ, අලෝහ, අද්වේශ, අමෝහ කියන හව හයට සම්බන්ධ කරන්නෙ කොහොමද?

**දේශක** : ඒකටත් බුදු රජාණන් වහන්සේ දේශනා කරන ලද සම්මා දිට්ඨි සූත්‍රය අනුව ලෝහ, ද්වේශ, මෝහ බව අකුසල මූල ලෙසත්, අලෝහ, අද්වේශ, අමෝහ බව කුසල මූල ලෙසත් දක්වා තියෙන ක්‍රමවේදය පාවිච්චි කරන්න පුළුවන්.

**ශ්‍රාවක** : අපි මේ මුකුත් දන්නෙ නැතිව ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ... ඇසුරු කරගෙන ඉන්නකොට අපිට සිද්ධ වෙන දේ නම් මට හොඳින් තේරුම් ගියා. ගොඩක් සූත්‍රවලින් කරුණු ගත්ත නිසා කියවනකොට අපැහැදිලි වෙන්න පුළුවන්. ඒ නිසා මේ හව හැදෙන හැටි සටහනකින් පෙන්නුම් කරල දුන්නොත් අපි හැමෝටම තේරුම්ගන්න පහසු වේවි.

**දේශක** : හරි. මේ සටහන අනුව තේරුම් ගන්න පුළුවන්ද කියල බලන්න.

**අවිද්‍යාවෙන් සංඛාර කරන විට (හිතන, කියන, කරනකොට )**




**ශ්‍රාවක** : දැන් පැහැදිලියි. සාමාන්‍යයෙන් අපි ඕන කෙනෙකුට තේරුම් ගන්න පුළුවන් රූප, ශබ්ද... ඇසුරු කරනකොට ඇතිවෙන කුසල අකුසල බව. ඒක හරියට හොඳ නරක ☞

වගේම තමයි. මේ විදිහට තමන්ටම මේ රූප, ශබ්ද, ගන්ධ, රස... ආදිය ඇසුරු කරනකොට සිද්ධ වෙන මේ භවකට පත්වීමේ ක්‍රමවේදය දැකගන්න පුළුවන් නම් පජානාති වෙනව නේද? ඒ කියන්නෙ අර සූත්‍රයේ තිබිච්ච ආකාරයට භවංච පජානාති වෙනව නේද?

**දේශක** : තවත් පැහැදිලි කරගන්න අවශ්‍යම දෙයක් තියෙනවා. තමන් ඒ ඒ වෙලාවට ඒ ඒ භවට පත්වෙන්නෙ පටිච්ච සමුප්පන්නව බව වටහා ගැනීම. එහෙම වටහා ගැනීමකුත් එක්කම මේ ක්‍රමවේදය තේරෙනව නම්, ඒක භවංච පජානාති කියන තත්ත්වයට සමාන කරන්න පුළුවන්. මොකද එහෙම වුනොත් තමයි භව නිරෝධංච පජානාති, භව නිරෝධ ගාමිණී පටිපදංච පජානාති වෙන්න පුළුවන් වෙන්නෙ.

**ශ්‍රාවක** : ඉතින් අපි මුලින්ම පටිච්ච සමුප්පාදය අනුව අවිද්‍යාවෙන් සංඛාර කරල අවසානයේ භවකට පත්වෙන ක්‍රමවේදය තේරුම් ගත්තනේ.

**දේශක** : ඔව්. ඒ ඉතින් පොතේ තියෙන පටිච්ච සමුප්පාද චක්‍රය අනුව භවකට පත්වෙන විදිහ දැනගත්තා. ඒ දැනුමත් මේ අවබෝධයට අවශ්‍යයි. නමුත් මෙතනදි ඔබ වටහා ගත යුතුයි, මේ වැඩ පිළිවෙල තනිකරම තමන්ගෙ සිත මුල් වෙලා බාහිර පරිසරයේ තියෙන තවත් හේතු එකතු කරගෙන ගොඩ නගා ගත්ත එකක් මිසක් ඉබේ සිද්ධ වෙන දෙයක් නෙවෙයි කියල. එතකොට තමයි බාහිරව තියෙන රූපත් සමග කරන ඇලීම් ගැටීම් වැඩ පිළිවෙලින් මිදෙන්න පුළුවන් බව තේරුම් යන්නෙ.

**ශ්‍රාවක** : මේ විදිහට ලෝකයේ ජීවත් වෙන අපි රූප, ශබ්ද, ගන්ධ... ඇසුරු කරන අවස්ථාවෙදි ඒ ඒ ආකාරයෙන් භවකට පත්වෙන වැඩපිළිවෙල පටිච්ච සමුප්පන්නව තමන්ගෙ හිත මුල් වෙලා ගොඩ නගා ගන්න එකක් බව වටහා ගන්නෙ කොහොමද?

**දේශක** : පටිච්ච සමුප්පන්නව කියන එකෙන් අදහස් කරන්නෙ මොකක්ද කියල පළමුව තේරුම් ගන්න අවශ්‍යයි. බාහිරව ඇති යම් රූපයකට බැඳෙන ආකාරය අනුව, ඒ කියන්නෙ රාගයෙන්ද, ද්වේශයෙන්ද, මෝහයෙන්ද කියන තුන් ආකාරයට අනුරූපව. ඒ රූපය ඇසුරු කරගෙන තමන් සිතින් උපදවා ගන්නා රූපයට අදාළව තීරණයක් අරගෙන ක්‍රියාත්මක වෙලා, ඊට පස්සෙ බාහිර රූපය සමග කටයුතු කිරීම තමයි තමන් නිතරම සිද්ධ කරන්නෙ. එහෙම කරන්නෙ තමන් මේ හේතුඵල න්‍යාය හෙවත් පටිච්ච සමුප්පන්න බව වටහාගෙන නැති නිසා.

**ශ්‍රාවක** : එතකොට මේ පටිච්ච සමුප්පන්න බව වටහා ගත්ත කෙනා දන්නවා, මේ රූපය දිහා බලල මම ඒකට ඇලුන නම් එහෙම වුනේ මම ඒ රූපයට රාගයෙන් බැඳිල සිතින් ගොඩ නගා ගත්ත සංකල්පයක් නිසා කියල. ඒ විතරක් නෙවෙයි, ඒ රූපයේ කාම ගුණ තිබුනට කාමය ඇති වුනේ තමන්ගෙම හිතින් කියල දැනගන්නවා.

**දේශක** : මේ තත්ත්වය සරල උදාහරණයකින් පැහැදිලි කරගන්න පුළුවන්. ඔබ දන්නවනෙ දූරියන් කියල පළතුරු වර්ගයක් තියෙනවා. ඒ පළතුරට පැහැදිලිවම ඉතා කැමති කොටසක් ඉන්නවා. තවත් කොටසක් ඉන්නවා කොහෙත්ම කැමති නැති.

**ශ්‍රාවක** : කැමති අයට දූරියන් පේන්නෙ හොඳ ප්‍රියමනාප දෙයක් විදිහට, අකමැති අයට පේන්නෙ අප්‍රිය අමනාප අප්‍රසන්න දෙයක් විදිහට.

**දේශක** : හොඳින් කල්පනා කරල බලන්න, එකම දූරියන් ගෙඩියක් දෙපිරිසකට මේ ආකාරයට පේන්න හේතුව මොකක්ද කියල. එතකොට පැහැදිලි වෙයි, මේ ප්‍රියමනාප බව හෝ අප්‍රිය අමනාප බව කියන එක දූරියන්වල තියෙන දෙයක් නෙවෙයි කියල. නමුත් දූරියන් ඒ අවස්ථාවෙදි ඒ ප්‍රිය / අප්‍රිය බවට උපනිශ්‍රය වෙන වස්තුවක් විදිහට ක්‍රියා කරනවා. එතකොට ඒ ප්‍රිය/ අප්‍රිය භවවල් දෙකම ගොඩ නගාගෙන තියන්නෙ දූරියන් ඇසුරු කරගෙන ඒ ඒ අයගෙ සිත්වලින්ම තමයි. ඒ සියළු හේතුවල ඵලයක් තමයි ප්‍රිය / අප්‍රිය බව.

**ශ්‍රාවක** : දූරියන්වලට කැමති අය හේතුඵල අනුව ගොඩ නැගිච්ච දූරියන් ගෙඩිය දිහා බලල හොඳයි කියල සතුටු වෙලා රාග බවට පත්වෙලා දූරියන් ගෙඩියෙ ප්‍රිය මනාප බවක් තිබුන කියල රැවටිලා ඉන්නෙ. දූරියන්වලට අකමැති අය හේතුඵල අනුව ගොඩ නැගිච්ච දූරියන් ගෙඩිය දිහා බලල, හරිම ජරාවක් කියල දුකකුත් හදාගෙන ද්වේශ බවට පත්වෙලා දූරියන් ගෙඩියෙ අප්‍රිය අමනාප බවක් තිබුන කියල රැවටිලා ඉන්නෙ. ඒ ආකාරයට හේතුඵල නොදැන ඉන්න සාමාන්‍ය ජනයා, ලෝකයේ තියෙන හැම රූපයකටම ඔය විදිහට රැවටිලා රාග - මෝහ හෝ ද්වේශ - මෝහ කියන භවකට පත්වෙලා තමයි නිතරම කාලය ගත කරන්නෙ. මේ රැවටීමට කොටුවෙලා ඉන්න අයට නම්, මේ භවකට පත්වෙන වැඩපිළිවෙල තමන්ගෙ හිත මුල් වෙලා පටිච්ච සමුප්පන්නව ගොඩ නගා ගන්න එකක් බව වටහගන්න අමාරුයි නේද?

**දේශක** : ඔව්. ඒක ඇත්ත තමයි. ඒ ඒ මොහොතේ බාහිර රූපත් සමග ගොඩ නගන හේතු අනුවම ඒ විඳීම් තුන විද්‍යමාන වන බවත් වටහා ගන්න පුළුවන් නම්, රැවටීමෙන් මිදෙන්න ඔය ආකාරයට හිතන අයටත් ඒක ප්‍රමාණවත් වෙනවා. නමුත් ගැඹුරින් පටිච්ච සමුප්පාදය වටහා ගන්න නම් තවත් ගැඹුරින් ඒ ගැන හිතන්න අවශ්‍ය වෙනවා. ඒ සඳහා අපිට ත්‍රිපිටකයෙන් සූත්‍ර දේශනා කීපයක්ම උදව් කරගන්න පුළුවන්. සංයුක්ත නිකාය 2 වන කාණ්ඩයේ 31 පිටුවේ තියෙන <u>අචේලකස්සප සූත්‍රයෙන්</u> උපුටා ගත්ත මේ කොටස තේරුම් ගන්න උත්සාහ කරන්න.

"භවත් ගෞතමයෙනි, කිම, දුක තමා විසින් කරන ලද්දක්ද?"
"කාශ්‍යපය, එසේ නොකියව" යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

"භවත් ගෞතමයෙනි, කිම, දුක මෙරමා විසින් කරන ලද්දක්ද?"
"කාශ්‍යපය, එසේ නොකියව" යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

"භවත් ගෞතමයෙනි, කිම, දුක තමා විසිනුත් මෙරමා විසිනුත් කරන ලද්දක්ද?"
"කාශ්‍යපය, එසේ නොකියව" භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

"භවත් ගෞතමයෙනි, කිම, දුක තමා විසිනුත් නොකරන ලද්දේ මෙරමා විසිනුත් නොකරන ලද්දේ ආකස්මිකව (ඉබේ) හට ගත්තක්ද?"
"කාශ්‍යපය, එසේ නොකියව" යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

කාශ්‍යප, "හේ කෙරෙයි, හේ විඳීය" යි මුලදීම මෙබඳු ලබ්ධි ඇති කල්හි (පසුව "දුක තමා විසින්ම කරන ලද්දකැ"යි මෙබඳු ලබ්ධි වෙයි. එබැවින්) "දුක තමා විසින් කරන ලද්ද" යි මෙසේ කියන්නේ තෙල සාස්වත දෘෂ්ටියට පැමිණේ. කාශ්‍යපය, "අනෙකෙක් කෙරෙයි, අනෙකක් විඳීය" යි

(මුලදීම මෙබඳු ලබ්ධි ඇති කල්හි පසුව එයින් උපදනා උච්ඡේද දෘෂ්ටි සහගත)

කාශ්‍යපය, තථාගත තෙමේ ඒ මේ දෙඅන්තයට නොපැමිණ මැදුම් පිළිවෙතෙහි සිටියේ දහම් දෙසයි : "අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංස්කාරයෝ වෙති. සංස්කාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය වෙයි... මෙසේ මේ හුදු දුක් රැසේ හට ගැනීම වේ. අවිද්‍යාවේම නිරවශේෂ විරාග නිරෝධයෙන් සංස්කාර නිරෝධය වේ. සංස්කාර නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධය වේ... මෙසේ මේ හුදු දුක් රැසේ නිරෝධය වේ" යයි.

**ශ්‍රාවක :** අපි කලින් කරපු විස්තරයෙන් හොඳටම පැහැදිලි වුනා, බාහිරව තියෙන රූප ඇසුරු කරගෙන මේ විදීම් තුනම තමන්ගෙ හිතින් ගොඩ නගන බව. මේ සූත්‍රය අනුව වැටහෙනවා, ඒක එක හේතුවකින් විතරක් සිද්ධ නොවන බව. හේතු සමූහයක ඵලයක් විදිහට පටිච්ච සමුප්පන්නව තමයි මේ සැප, දුක්, උපේක්ෂා වේදනා දැනෙන්නෙ.

**දේශක :** ඒක තමයි මම මුලින්ම කිව්වෙ මේක ගැඹුරින් කල්පනා කරල තේරුම් ගන්න අවශ්‍යයි කියල. සංයුක්ත නිකායේ 2 වන කාණ්ඩයේ <u>මොළියඑග්ගුන සූත්‍රයෙන්</u> මේ බව හොඳින් සනාථ වෙනවා.

වහන්ස, කවරෙක් තෘෂ්ණාව කෙරේද? ප්‍රශ්නය යුක්ත නොවේ යයි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක. තෘෂ්ණාව කෙරේ යයි මම නොකියමි. ඉදින් මම තෘෂ්ණාව කෙරේ යයි කියන්නෙම් නම්, එහි ලා "වහන්ස, කවරෙක් තෘෂ්ණාව කෙරේද?" යන ප්‍රශ්නය යුක්ත වන්නේය. මම එසේ නොකියමි. එසේ නොකියන මාගෙන් යමෙක් "වහන්ස, කිනම් ප්‍රත්‍යයෙකින් තෘෂ්ණාව වේද" යි මෙසේ විචාරන්නේ නම්, මේ ප්‍රශ්නය යුක්තය. එහි ලා "වේදනා ප්‍රත්‍යයෙන් තෘෂ්ණාව වෙයි. තෘෂ්ණා ප්‍රත්‍යයෙන් උපාදාන වේය" යි විසඳීම යුක්තය.

මෙතනදි අන්ත දෙකටම යන්නෙ නැතිව මැදුම් පිළිවෙතින් තේරුම් ගන්න කියල දේශනා කරල තියෙනවා. මැදුම් පිළිවෙත කියල කිව්වෙ පටිච්ච සමුප්පන්නව සිද්ධ වෙන ක්‍රමවේදයට. මේ ලෝකයේ රූප, ශබ්ද... ආදිය ඇසුරු කරල මේ ආකාරයට 31 තලයටම අයත් භව හදන වැඩපිළිවෙල සිද්ධ වෙන්නෙ පටිච්ච සමුප්පාදය කියන මූල ධර්මයට අනුව. ඒ වැඩ පිළිවෙල සිද්ධ කරන කෙනෙක් ඉන්නව කියල ගන්න බෑ කියල තමයි මෙතනදි උන්වහන්සේ අපිට පෙන්වා දීල තියෙන්නෙ.

**ශ්‍රාවක :** ඒකනම් මට තේරුම් ගන්න අමාරුයි. ඉතින් මමනෙ ඔය රූප, ශබ්ද... පස්සෙ ආස්වාද විඳින්න කියල යන්නෙ.

**දේශක :** හරි. ඔබ කියන දේ ඇත්ත තමයි. හැබැයි මෙතනදි හැමෝම තේරුම් ගන්න ඕන, එහෙම හිතෙන එක අපේ තියෙන දෘෂ්ටියක් බව. ඔය රූප, ශබ්ද... ආදිය ඇසුරු කරල 31 තලයට අයත් භවට පත්වෙන වැඩපිළිවෙල තමයි "මම" කියල අල්ලගෙන ඉන්නේ. "මම" තමයි ඔය රූප පස්සෙ යන්නෙ, "මම" තමයි රාග බවට, ද්වේශ බවට, මෝහ බවට පත්වෙන්නෙ, "මම" තමයි මේ ඔක්කොම කරන්නෙ, "මම" තමයි නිවන් දකින්නෙ... ඔය ආකාරයට කියන හැම එකක්ම ඔය දෘෂ්ටියට අනුවම තමයි කියන්නෙ.

**ශ්‍රාවක :** හරි. ඒක දෘෂ්ටියක් නම් අපි හැමෝම ඒ දෘෂ්ටියට අහුවෙලාද ඉන්නෙ?

**දේශක :** ඔව්. පටිච්ච සමුප්පන්න බව අවබෝධ කරගන්නව කියන්නෙ ඔය තත්ත්වය අවබෝධ කරගන්න එකට. හැබැයි මේ ලෝකය පටිච්ච සමුප්පන්නයි කියල අවබෝධ කරගත්ත කියල, මම තමයි මේව කරන්නෙ කියන සංඥාවෙන්, හැඟීමෙන් අයින් වෙන්න බෑ. ඒ සංඥා හැඟීම් විපර්යාසය බිඳිල යන්න නම් අරිහත් බවට පත්වෙන්න ඕන. අස්මි මානය කියල හඳුන්වන්නෙත් ඒකම තමයි. සත්ත්වයෙක්, පුද්ගලයෙක් ඉන්නව කියන සංඥාව නැතිවෙලා යන්න නම් අවසාන සංයෝජන තුන විදිහට තියෙන මාන, උද්දච්ච, අවිද්‍යා සහමුලින්ම බිඳ හරින්න අවශ්‍යයි.

**ශ්‍රාවක :** ඒ තත්ත්වයට පත්වෙනකල් ඉතින් සම්මතයේ ඉඳගෙන ලෝකෙ වැඩ කටයුතු ටික කරගෙන යනකොට "මම" කියල කටයුතු කරන්න සිද්ධ වෙනව නේද?

**දේශක :** ඔව්. ඒ විතරක් නෙවෙයි. රහතන් වහන්සේලාත් ඔය ආකාරයටම සම්මුති වශයෙන් "මම" කියල භාවිතා කරනවා. හැබැයි එහෙම දෘෂ්ටියක්, සංඥාවක් උන්වහන්සේලාට නෑ.

**ශ්‍රාවක :** උන්වහන්සේලාත් මගේ පාත්තරය, මගේ සිවුර... ආදී වශයෙන් භාවිතා කරනව කියල සූත්‍ර දේශනාවක් තියෙන බව මමත් අහල තියෙනවා.

**දේශක :** ඔව්. ඒ බව සඳහන් වෙන්නෙ <u>අරහන්ත සූත්‍රයේ</u> (සං. නි. - 1, 27 පිටුව) දේවතාවෙක් බුදු රජාණන් වහන්සේගෙන් අහන ප්‍රශ්නයකට තමයි ඒ ආකාරයට උත්තර දීල තියෙන්නෙ. දැන් ඔබටත් තියෙන්නෙ, 31 තලයට අයත් භවට පත්වීමෙන් මිදෙන්න කටයුතු කරන අතරෙ, මේ ක්‍රියාවලිය පටිච්ච සමුප්පන්නව හේතුඵල න්‍යායට අනුව සිද්ධ වෙන දෙයක් බව අවබෝධ කර ගැනීම.

**ශ්‍රාවක :** ඔය ආකාරයට පටිච්ච සමුප්පන්නව මේ භව හැදෙනව කියන ක්‍රියාවලිය තේරුම් ගත්තොත්, අපි මුලින්ම සඳහන් කළා වගේ භවංච පජානාති කියන තත්ත්වයට පත්වෙලාද? ඒ කියන්නෙ අපි හැමෝම මහ දුකකට ඇද වැටෙන්නෙ මේ විදිහට තණ්හාවෙන් බැඳිල සිද්ධ කරගන්න පටිච්ච සමුප්පන්න ක්‍රියාවලියක ප්‍රතිඵලයක් ලෙසයි කියන අවබෝධය ලබා ගත්තොත් හරිද?

**දේශක :** හරි. ඔබ තදින්ම හිතට ගත යුතු යමක් තියෙනවා. ඒ තමයි ඔබ තවමත් මේ ලෝකයේ කටයුතු කරන්නෙ රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් බව. ඒ නිසා රාග, ද්වේශ, මෝහ සහිතව ඉන්න ඔබ, සත්ත්වයෙක් / පුද්ගලයෙක් නෑ, මේක මම කරන එකකුත් නෙවෙයි කියල බලහත්කාරයෙන් හිතාගෙන මේ ලෝකයේ සාමාන්‍ය කටයුතුවල නිරත වෙන්න ගියොත්, සමහර විට අනිත් අය ඔබට යම් කිසි අසනීපයක් හැදිල කියල හිතා ගන්නත් ඉඩ තියෙනවා.

**ශ්‍රාවක :** ඒක නම් ඇත්ත තමයි. මට කරන්න තියෙන්නෙ, මේක සම්මතයේ ඉඳගෙන කටයුතු කිරීමක් බව තේරුම් අරගෙන නිවන් මග පූර්ණ කරගන්න අවශ්‍ය කටයුතු කරන ගමන්, වෙනද වගේම මම කළ යුතු අත්‍යවශ්‍ය යුතුකම් මම කරනව කියල හිතාගෙනම කරන එක නේද?

**දේශක :** ඔව්. මේ ආකාරයට පටිච්ච සමුප්පන්න බවත්, හේතුඵල බවත්, ඒ ඒ මොහොතේ භවට පත්වෙන වැඩපිළිවෙල "මම" වශයෙන් දෘෂ්ටියෙන් අල්ලගෙන ඉන්න බවත් වටහාගෙන, මේ මුළා සහගත බව නිසා රාග බවට, ද්වේශ බවට, මෝහ බවට පත්වෙන ක්‍රමය පජානාති විදිහට වටහා ගන්න උත්සාහ කරමු.

රූප ඇසුරු කරල වින්ද සුවයක් නැවත නැවතත් ලබා ගන්න රූප පස්සෙම හඹාගෙන යන්න උත්සාහ කරන ලෝක සත්ත්වයෙක් නොදැනුවත්වම මේ ආකාරයේ විපාක වශයෙන් එන සැප, දුක්, උපේක්ෂාවලට රාගයෙන්, ද්වේශයෙන්, අවිද්‍යාවෙන් / මෝහයෙන් බැඳෙනවා. මේ ගැන ඉතා වැදගත් ධර්මයක් <u>මහා වේදල්ල සූත්‍රයේ</u> පැහැදිලිව විග්‍රහ කරල තියෙනවා. ඒ අනුව, ඔය විඳීම් තුනම අපි දැන ගන්නෙ විඤ්ඤාණයෙන් දැන ගැනීමේ ක්‍රමය අනුව. ඒ කියන්නෙ විඤ්ඤාණය කියන මායාවට අහුවෙලා වේදනා චෛතසික තුලින් විඳ ගැනීම් තුනක් මනසින් පටිච්ච සමුප්පන්නව උදා කරගන්නවා කියන එකම තමයි.

අනුව ගොඩ නගා ගත්ත සුව විඳීමට රැවටෙනවා, බාහිර රූපවලින් සුව දැනුන කියල. ඒ විදිහට රැවටිලා සුව විඳගන්න උදව් වුන බාහිර රූප නැවතත් තමන් කැමති ගොඩටම දාගන්නවා. තමන් තමන්වම උගුලකට මැදි කරගන්නව වගේ වැඩක් තමයි වෙන්නෙ.

**දේශක** : හැමෝම තේරුම් ගන්න ඕන වැදගත්ම කාරණය තමයි, මේ ආකාරයට වේදනා චෛතසිකයෙන් සුව විඳීම තමන්ගෙ සිත මුල් වෙලා විඤ්ඤාණ මායාවකින් කරගන්න වැඩක් කියන එක. ඒ වගේම විඤ්ඤාණ මායාවට රැවටෙන්නෙ නැතිව ප්‍රඥා චෛතසිකය මුල් කරගෙන තමන්ට අවශ්‍ය නම් ඒකෙන් මිදෙන්නත් පුළුවන් කියන එක.



**ශ්‍රාවක** : අපිට මේ ලෝකයේ ජීවත් වෙන කාලය තුල කර්ම විපාක අනුව ලැබෙන ප්‍රිය, අප්‍රිය, උපේක්ෂා අරමුණු අවිද්‍යාව නිසා විඳින්න ගිහින් උදා කරගන්න සැප විඳීම, දුක විඳීම, උපේක්ෂා විඳීම කියන විඳීම් තුන ගැන විඤ්ඤාණ මායාවකින් දැනගෙන ඉන්නවා, ඒවා මම විඳින ඒවා කියල.

**දේශක** : ඔව්. මේ ආකාරයට ප්‍රඥාවෙන් දැන ගන්නවා සැප, දුක්, උපේක්ෂා විඳීම් ලබාදෙන අවස්ථාවලදී අරමුණු කරගන්න බාහිර රූප සියල්ලම අපේ ගතියට අනුව අපි ගොඩවල් තුනකට බෙදාගෙන හොඳයි, නරකයි හා හොඳත් නැති නරකත් නැති දේ කියල ඉන්නව කියල. ඊට පස්සෙ අපිම බෙදා ගත්ත ඒ ගොඩවල් තුනේ රූප නැවත අරමුණු කරගෙන නැවත නැවතත් සැප, දුක්, උපේක්ෂා විඳීම් තුන විඳිනවා. මේ තත්ත්වය ගැන ගැඹුරින් කල්පනා කරල බලන්න. අපිව මේ උගුලකට තමයි කොටු වෙලා ඉන්නෙ.

**දේශක** : තමන් කැමති ඒවායින් සුව වේදනා අරගෙන හේතුඵල

**ශ්‍රාවක** : එහෙම කොහොමද මම ඒ වගේ දෙයක් ගැන තීරණයක් ගන්නෙ? මට එහෙම දැනුමක් නැනෙ.

**දේශක** : ඒකට තමයි බුදු රජාණන් වහන්සේ ධර්මය දේශනා කරල මේවා වෙන හැටි පැහැදිලි කරල දීල තියෙන්නෙ. බාහිරින් එන රූප අරමුණු විඳගන්න තමන් තමන්ගෙ ඉඳුරන් වෙනස් කරන හැටි තේරුම් ගන්න ඕන. මේක හොඳට දැනෙන වෙලාවක් තමයි තදින්ම තරහ ගිය වෙලාවක, මම කොහොමද මගේම ඉඳුරන් වෙනස් කරගෙන තියෙන්නෙ කියල විමර්ශනය කරල බලන එක. එතකොට කැමති අරමුණුවලට රාගයෙන් බැඳෙන විදිහත්, අකමැති අරමුණුවලට ද්වේශයෙන් බැඳෙන විදිහත් තමන්ටම අත්දකින්න පුළුවන් වෙයි.

**ශ්‍රාවක** : මේක කරන්න නම් හොඳ සිහියෙන් ඉන්න වෙනව නේද?

**දේශක** : ඔව්. ඒක නම් ඇත්ත තමයි. හැබැයි නිවැරදිව ඔය සිහිය පවත්වාගන්න පුළුවන් වෙන්නෙ ආර්ය ශ්‍රාවකයෙකුට තමයි. අනිත් අයට ඕව ගැන හිතන්නවත් වෙලාවක් නෑ. ඇලෙන ගැටෙන එකට විතරමයි ඒ අයට වෙලාවක් තියෙන්නෙ. යම් ආකාරයකට හෝ දහම් අවබෝධයක් ලබා ගත්ත ආර්ය ශ්‍රාවකයන් තමයි ලෝකයේ රූප ඇසුරු කරනකොට තමන්ට වෙන දේ ගැන මේ විදිහට හොයන්න, විමර්ශනය කරන්න, හාරල අවුස්සල බලන්න නිතර නිතර වෙහෙස වෙන්නෙ. එතකොට තමයි හේතු ගැලපිලා පටිච්ච සමුප්පන්නව උදා වෙන බව වැටහෙන්නෙ.

**ශ්‍රාවක** : ඒක නම් සහතික ඇත්ත. මමත් මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙලා මේ විදිහට ශ්‍රී සද්ධර්මය දැනගත්තට පස්සෙ තමයි මේ දහම් පිපාසය ඇති වුනේ. සාමාන්‍යයෙන් ගුවන් විදුලියෙන් බණක් ඇහුවත් මම ඒ කියන දේවල් ගැන විමර්ශනයක් නොදැනුවත්වම වගේ කරනවා. එතකොට මම එකඟ නොවෙන තැන් අත්හැරල දාන්න මට පුළුවන්. සැක සහිත තත්ත්වයක් ආවොත් අපේ කල්‍යාණ මිත්‍රයෙක්ගෙන් අහලත් බලනවා.

**දේශක** : මේ මග වඩාගෙන ඉදිරියටම යන කවුරුත් එහෙම තමයි. ඉතින් කාටහරි තේරුම් ගියොත්, මේ බාහිර රූප ඇසුරු කරන අවස්ථාවලදී රාග, ද්වේශ, මෝහ බවට පත් වුනොත් තමන් මේ 31 තලයේ තියෙන කුමන හෝ භවක් ගොඩ නගා ගන්නවා කියන කාරණය, අනිවාර්යෙන්ම ඒ පුද්ගලය ආර්ය ශ්‍රාවකයෙක්ම තමයි. ධර්ම ශ්‍රවණය කරල ඒකෙ ආදීනවයන් හොඳින් දැනගෙන ඉන්න නිසා ඒ පුද්ගලයා පුළුවන් හැම අවස්ථාවකම රාග, ද්වේශ, මෝහ භවකට පත් නොවී ඉන්න තමයි උත්සාහ කරන්නෙ.

**ශ්‍රාවක** : මම මෙහෙම වැඩක් නම් කරනවා. ලෝකය ඇසුරු කරද්දි දැඩිව ඇලිච්ච හෝ දැඩිව ගැටිච්ච හෝ අවස්ථාවක් මට හඳුන ගන්න පුළුවන් වුනොත්, මේ ඇලෙන ගැටෙන එකේ හරයක් නැති බව දන්න නිසා ඉන්ද්‍රිය භාවනාව කරල ඒ තත්ත්වයෙන් මිදෙන්න උත්සාහ කරනවා.

**දේශක** : ඒක තමයි කළ යුත්තේ. එතකොට ඔබ කිසිම රාග, ද්වේශ, මෝහ භවකට පත්වෙන්නෙ නෑ. උදාහරණයක් විදිහට හොඳටම කේන්ති ගිය අවස්ථාවක් අරගෙන බලමු. එතකොට ඔබ පත්වෙලා ඉන්නෙ ලෝභ, ද්වේශ, මෝහ

කියන භවවලට අයත් වෙන යම් නරක භවකට. ඒ කියන්නෙ සතර අපායට අයත් භව 4 න් එකකට. ඊට පස්සෙ ඔබ ඒ තත්ත්වය හඳුනගෙන ඉන්ද්‍රිය භාවනාව කරල ඒ හදාගත්ත භව නිරුද්ධ කරල දානවා. එතකොට ඒ වෙලාවෙ ඔබට රාග, ද්වේශ, මෝහ හවක් ඇත්තෙම නෑ.

**ශ්‍රාවක :** දිගින් දිගටම ඉන්ද්‍රිය භාවනාව කරන්න පුරුදු වෙනව කියන්නෙ, ඔය කියන ආකාරයට 31 තලයේම තියෙන කුමන හෝ භවකට පත් නොවී ඉන්න පුරුදු වෙන්න උත්සාහ කරනවා කියන එකම නේද?

**දේශක :** හරියටම හරි. ඒක තමයි වෙන්නෙ. 31 තලයටම අයත් භව හදන්නෙ නෑ කියල කියන්නෙ, ඔබව යළි ඉපදෙන්න තැනක් නෑ කියන එක. ඒ කියන්නෙ ඔබ නිවන පූර්ණ කරගෙන කියන එකම තමයි.

**ශ්‍රාවක :** අන්තිමට මේ වගේ භවකට පත්වීමේ ක්‍රමවේදය ප්‍රඥාවෙන් දැන ගන්නව කියන්නෙ, නිවන් දකින්න ක්‍රමවේදයක් ප්‍රඥාවෙන් දැනගත්තා කියන එකම තමයි. දැන් තමයි මේ ක්‍රමයත් නිවන් දකින ක්‍රමයක් බව මට තේරුම් ගියේ.

**දේශක :** ඔබ මේ ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ... ආදිය ඇසුරු කරමින් රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් කටයුතු කරන හැම අවස්ථාවකදීම, 31 තලයටම අයත් භවකට ඒ මොහොතේ පත්වෙන බව වටහාගෙන තියෙනව නම්, ඒ තමයි භවංච පජානාති කියල කිව්වෙ. එතකොට ඔබට වැටහෙනව නම්, මේ ලෝකයේ මුළා සැනසුම ලබා ගන්න තියෙන උවමනාව නිසා ඒකට කැමැත්තෙන්ම රූප පසුපස හඹාගෙන යනවා, ගිහින් මේ වගේ උගුලකට අහුවෙනවා, එතකොට මේ 31 තලයටම අයත් භව ගොඩ නැගෙනවා කියල, ඒ අවබෝධයට කියන්නෙ භව සමුදයංච පජානාති කියල.

**ශ්‍රාවක :** ඒක නම් ඇත්ත තමයි. මමමනේ ඉතින් සැප ලැබෙනව කියල රැවටිලා ඕව පස්සෙ යන්නෙ. ඒ ඉතින් මම ඒවට දැඩි කැමැත්තක් තියෙන නිසානෙ. ඒ කැමැත්ත ඉෂ්ට කරගන්න, ඕනම දුකක් ඉවසගෙන මහා වෙහෙසක් දරාගෙන දිවා රෑ නොබලා කටයුතු කරන්නනේ අපි හැමෝම පුරුදු වෙලා ඉන්නෙ.

**දේශක :** ඒ වගේම මේ 31 තලයටම අයත් භවවල් තමන් ඒ ඒ අවස්ථාවෙදි පටිච්ච සමුප්පන්නව උදා කරගන්න බවත්, ආදීනවය මෙනෙහි කරල ඉන්ද්‍රිය භාවනා... ආදී භාවනා කරල තමන්ටම නිරෝධ කරගන්න පුළුවන් බවත් තේරුම් ගියා නම්, භව නිරෝධංච පජානාති කියන කාරණය අවබෝධ කරගත්ත වෙනවා.

**ශ්‍රාවක :** මට අමතර ප්‍රශ්නයක් අහන්න අවසර දෙන්න. මම ත්‍රිපිටකය කියවත්දි නිතරම දැක්ක දෙයක් තමයි, මේ ධර්මය අවබෝධ කරගත්ත අය ඒක කරනකොට "යං කිංචි සමුදය ධම්මං සබ්බත්තං නිරෝධ ධම්මන්ති" කියල වැටහුනා කියල කියනවා. ඒ වගේම දෙයක්ද භව සමුදයංච පජානාති භව නිරෝධංච පජානාති කියන කොටත් සිද්ධ වෙන්නෙ?

**දේශක :** ඔව්. ඒකම තමයි. එතනදි කියවෙන්නෙ, තමන්ගෙ සිත මුල් වෙලා උදා කරගන්න ඒවා තමන්ටම නිරෝධ කරගන්න පුළුවන් කියන එක. මෙතනදිත් 31 තලයට අයත් භව උදා කරගන්නෙ තමන්ගෙ සිත මුල් වෙලා තමයි. තමන්ටම තමයි ඒක නිරෝධ කරගන්න පුළුවන් වෙන්නෙත්. හැබැයි ඒකට ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල ලබා ගත්ත ආස්වාදය, ආදීනවය, නිස්සරණය ගැන පජානාති ආකාරයේ වැටහීමක් ලබල තියෙන්න ඕන.

**ශ්‍රාවක :** මෙතනදි අපට එන යම් කිසි දාහ සහගත බවක් ඉවත් වෙනකොට එන සුවය නේද ආස්වාදය කියල වැටහෙන්නෙ? ඒකට නේද ඡන්ද රාගයෙන් බැඳෙන්න එපා කියන්නෙ? 31 තලයටම අයත් භවකට පත්වෙලා මහා බියකරු සංසාරයේ නිමාවක් නැතිවම සැරිසරන්න වෙන එක නේද ආදීනවය කියන්නෙ? ඉන්ද්‍රිය භාවනාව වගේ භාවනාවක් කරල භවකට පත් නොවී ඉන්න උත්සාහ කරන එක නේද නිස්සරණය කියන්නෙ?

**දේශක :** ඔව්. මේ ක්‍රමවේදයෙදිත් වටහාගන්න තියෙන්නෙ ආස්වාද, ආදීනවය, නිස්සරණය කියන තුනම තමයි. මෙතනදි මේ ආකාරයට අවබෝධ කරගත්ත ශ්‍රාවකයෙක් පටිච්ච සමුප්පන්නව උදා කරගන්නා 31 තලයට අයත් භව හදන වැඩපිළිවෙලින් මිදෙන්න කියල හිතාගෙන, ඒ ඒ භවට පත්වෙච්ච අවස්ථාවන් හඳුනගෙන ඉන්ද්‍රිය භාවනාව... ආදී භාවනාවක් කරල මිදෙන්න කටයුතු කරනව නම්, ඒකට තමයි භව නිරෝධ ගාමිණී පටිපදංච පජානාති කියල කියන්නෙ.

**ශ්‍රාවක :** මේ ආකාරයට කල්පනා කළාම, යමෙක් මේ භවංච පජානාති, භව සමුදයංච පජානාති, භව නිරෝධංච පජානාති, භව නිරෝධ ගාමිණී පටිපදංච පජානාති කියන තත්ත්වය වටහා ගන්නව කියන්නෙ, නිවන් දකින මාර්ගයට පිවිසුනා කියන එකම තමයි.

**දේශක :** 31 තලයට අයත් භවකට පත්වෙච්ච යම් අවස්ථාවක් හඳුනගෙන ඒකෙන් මිදෙන්න ඉන්ද්‍රිය භාවනාව කරනව නම්, ඒ වෙලාවෙත් ඒ පුද්ගලයා ඉන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ බව දැන් වැටහෙනව නේද? එතකොට මේ "භව" තේරුම් ගත්ත කෙනෙක් අපි මුලින්ම පෙන්වා දුන්න වගේ ප්‍රශ්නය, ප්‍රශ්නයට හේතුව, ප්‍රශ්නයට විසඳුම, ප්‍රශ්නය විසඳෙන ක්‍රමවේදය කියන චතුරාර්ය සත්‍ය ධර්ම විග්‍රහයට අනුකූලවයි මේ ප්‍රශ්නයත් විසඳ ගන්නෙ. අපි අවසාන වශයෙන් තේරුම්ගත යුත්තෙ,

**ප්‍රශ්නය :** අපි ලෝකයේ ජීවත් වෙන කොට දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ කරන්නෙ, මේ 31 තලයට අයත් භව ගොඩ නගන එක. ඒ කියන්නෙ බියකරු සසර අතරමං වෙන එක.

**ප්‍රශ්නයට හේතුව :** අපි එහෙම කරන්නෙ මුළා ආස්වාදයකට රැවටිලා. ඒ ආස්වාදය නැවත නැවතත් විඳින්න තියෙනව නම් කියන කැමැත්ත නිසා, තණ්හාව නිසා,

**ප්‍රශ්නයට විසඳුම :** මුළා ආස්වාදය නැවත නැවතත් විඳින්න තියෙන කැමැත්ත සම්පූර්ණයෙන්ම පහ කිරීම.

**ප්‍රශ්නය විසඳන ක්‍රමවේදය :** භවට පත්වෙච්ච අවස්ථාවන් හඳුනගෙන, ආදීනව මෙනෙහි කරල ඉන්ද්‍රිය භාවනා ආදිය කරල හැකි තාක් ඒවායින් මිදෙන්න කටයුතු කරන එක තමයි අපි හැමෝම කළ යුත්තෙ. ඒකට තමයි අරි අටඟි මග වඩනවා කියන්නෙ.

*සටහන:*

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

**අභයරතනාලංකාරය - 74**

# නොපළ වූ ගුණ කඳ - III



**- වහරක අභයරතනාලංකාර හිමි**

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි කාලයේ පටන් ඇසුරු කළ තවත් ධර්මධර විනයධර බහුශ්‍රැත ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමකගේ අත්දැකීම් තමයි මේ සටහන් කරන්නෙ. පැවිදි දිවියට ඇතුලත් වෙලා අවුරුදු 36 කුත්, උපසම්පදා වෙලා අවුරුදු 30 කුත් සම්පූර්ණ කරල, ලංකාවෙ දිස්ත්‍රික්ක 19 ක ආරණ්‍ය සේනාසන 96 ක පමණ වැඩ වාසය කරල, මහණ දිවියෙත් බොහෝ අත්දැකීම් තියෙන උන්වහන්සේ තමන්ගෙ නම් ගම් සඳහන් නොකරන ලෙස ඉල්ලා සිටි නිසා, නම් ගම්වලින් තොරව උන්වහන්සේ ලබපු අත්දැකීම් විතරක් මේ විදිහට සටන් කරනවා.

වහරක අභයරතනාලංකාර හාමුදුරුවො මට මුණ ගැහුනෙ ගිහි කාලෙ උපාසක මහත්තයෙක් විදිහට බණ දේශනා කරමින් ඉන්න කොට 2000 වර්ෂයේ. ඒ කාලෙ අපි කිව්වෙ අබේරත්න උපාසක මහත්තය කියල. අනෙක් දේශකවරුන්ට වඩා උන්වහන්සේගේ ලොකු විශේෂත්වයක් තිබුනා. මුලින්ම පිරිසක් ගියාට පස්සෙ දහම් සාකච්ඡාවක් කරනවා. ඇත්තටම දෙවෙනි දවසෙ ගියාමත් ඒ සාකච්ඡාවම තමයි කරන්නෙ. හැබැයි ඒක පළවෙනි සාකච්ඡාවට වඩා තව ටිකක් සුද්ධ ඇතිව කියනවා. තුන්වෙනි දවසෙ ඊටත් වඩා තවත් ටිකක් සුද්ධ ඇතිව කියනවා. ඔහොම ගිහින් 4, 5, 6 වෙනි දවස්වල තව තවත් සුද්ධ ඇතිව කියල අන්තිමට 100% ක්ම සුද්ධ ඇතිව කියනවා. හැබැයි ඒ කාරණය සාමාන්‍ය ලෝකයා දකින්නෙ, එදා කියපු එක නෙවෙයි අද කිව්වෙ කියල. ඒ සම්බන්ධයෙන් චෝදනා කරපු අවස්ථා පවා මට ඕන තරම් අහුවෙලා තියෙනවා.

එක වතාවක් මස් මාංශ අනුභවය අනුමත කරපු තැන් තියෙනව කියල සාකච්ඡාවක් කළා. අපිත් ඒ ගැන ගොඩක් කතා කළා. ඊට පස්සෙ ඒ වෙනකොට මස් මාංශ නොකා හිටපු පිරිසක් සම්පූර්ණ අදහස වෙනස් කරල මස් මාංශ කන්න පටන් ගත්තා. දැන් අපිට තේරුනා මෙච්චර කාලයක් මේ පිරිස මස් මාංශ ගන්නෙ නැතිව නතර කරල හිටියෙ නරක නිසා නෙවෙයි, මහ අසහනයකින් මහ පීඩාවකින් ඉඳල තියන්නෙ යල. අබේරත්න උපාසක මහත්තය මේක ලිහිල් කරල කියනකොට ඒ පිරිස ඒ කාරණය ක්ෂණිකව බාර ගත්තා, හා එහෙනම් කෑවට කමක් නෑ කියල. මට මතකයි අබේරත්න මහත්තය මහණ වෙලා වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ ප්‍රධාන ධර්ම ශාලාව විවෘත කරපු දවසෙ එක හාමුදුරුවො නමක් කට්ටියටම දොස් කිව්වා. මොකද ගේන ගේන දානෙ මොනව හරි මස් වර්ගයක්. අනෙක් එවුන්ට කන්න සම්බෝල ටිකක් හරි හදල තියන්න එපැයි කියලයි උන්වහන්සේ දොස් කිව්වෙ. ඉතින් ඒ වෙනකල් මිනිස්සු මහ අසහනයකින් මස් මාංශ නොකා හිර කරගෙන ඉඳල, අබේරත්න උපාසක මහත්තයගෙන් වචනය එළියට පැන්න හැටියෙ මේක කන්න පටන් ගත්තා.

ඊළඟට මහත්තය මේ කාරණය සාකච්ඡා කරගෙන යනකොට ඊට වඩා අත්දැකීම් එන්න ගත්තා. හැමවෙලේම අත්දැකීම් ඔස්සේ තමයි හැම එකක්ම විස්තර කළේ. ඒ නිසා ඒ වෙලාවෙ ඉන්න මට්ටම අනුව තමයි ඒ ලැබිච්ච අත්දැකීම් ඔස්සේ කරුණු කියන්නෙ. හැබැයි ඊළඟ අවස්ථාවෙ යනකොට ඊට වඩා අත්දැකීම් ලැබෙනවා. ඒ නිසා දෙවෙනි අවස්ථාවෙදි ඒ කාරණය විග්‍රහ කළේ මේ විදිහට. ඒ කාලෙ මස් මාංශ වර්ග 2 ක් තිබිල තියෙනවා. එකක් ස්වභාවිකව මැරිච්ච සතුන්ගෙ මස් (පවත්ත මාංශ). අනෙක අසාධාරණයෙන් සතුන් මරා සකස් කරගත්ත මස් මාංශ. ඔය විදිහට කැලේ ඉන්න ගෝනෙක්ගෙ කුඩා අවධියේ ආරක්ෂාවට ඉතා තියුනු විදිහට කන් ඇහෙනව කියලත්, ඒ සතා වැඩි වයසට පත්වෙනකොට මාංශ පේශිවලින් හිර වෙලා කන් ඇසීම නැතිවෙනව කියලත්, ඒ හේතුවෙන්ම ඒ සතාව වෙනත් සතුන්ට ගොදුරු වෙනව කියලත් විස්තර කරල, විවිධ සත්තු හැදෙන හැටිත්, වෙනත් සතුන්ට ශරීර මාංශයෙන් ණය ගෙවන හැටිත් ලොකු විග්‍රහයක් කළා. සත්ත්ව ලෝකයේ ඉපදුනාම මරන් කරනවට වඩා තියෙන්නෙ ඒ සතාව අල්ලගෙන පණ පිටින් කාලා අවසන් වෙනකොට ඌ මැරෙන එකයි කියලත් කිව්වා.

ලෝකයාට කරපු අසාධාරණයට මසින් වන්දි ගෙවන්න පිරිසක් ඇවිත් ඉන්නවා. ඒ අය අනිවාර්යෙන්ම මස් මාංශයෙන් වන්දි ගෙවන්න ආපු අය. ඉතින් ඒකට අපිට කරන්න දෙයක් නෑ. හැබැයි අපි ඒ සත්තු මරන එක අනුමත කරන්නෙ නෑ. ඒක ගැලපෙන්නෙ නෑ. මිනිස්සු ඒ පාප කර්මය නොකරනව නම්, උන්ට වන්දි ගෙවන්න ස්වභාවයෙන්ම ක්‍රමයක් යෙදෙනවා. නමුත් දහම් මග යන කෙනාට මොනව හරි දෙයක් ජීවිතය පවත්වගෙන යන්න ඕන. ඒ අයට මස් මාංශ කෑවත් එකයි නොකෑවත් එකයි. ඒ මොනව හරි තියෙන දෙයක් කාල තමන්ගෙ වැඩේ කරගන්න එක තමයි කරන්න තියෙන්නෙ. දහම් මග යන කෙනා කඩේට ගියාම අතේ මිටේ තියෙන ගානට එළවළු ටිකක් අරන් එනවා. දහම් මග යන්නෙ නැති කෙනා ණය වෙලා හරි හොඳ හොඳ එළවළු, දරාගන්න බැරි තරම් දේවල් ගොඩ ගහගෙන එනවා.

ඉස්සර කාලෙ හැමෝටම කැලේ යන්න බෑ. යන්න පුළුවන් කෙනා ඔය ගස් ගල් අස්සෙ වැටිල තියෙන මොනව හරි මසක් (පවත්ත මාංශයක්) අරගෙන ඇවිත් ඒක වේළගෙන පුච්චගෙන කනවා. අල්ලපු ගෙදර කෙනා, කොහොමද ඔය මස් මාංශ ගෙනාවෙ කියල ඇහුවම, ආං අර කැලේ ගලක් උඩ දාල තිබිල මම අරගෙන ආව කියනවා. බලනකොට කොටියා ඒ සතාව වද දීල මරල බඩවැල් ටික ඇදගෙන කාල යනව මිසක් සියල්ල කන්නෙ නෑ. පූසෙක් වුනත් තමන්ගෙ පැටවුන්ට මැරිච්ච සතෙක් ගෙනත් දෙන්නෙ නෑ. මීයෙක් හරි පණ පිටින් අල්ලගෙන ගෙනත් දීල බාගෙට මරල නටල උඩ පැනල සෙල්ලම් කරල තමයි අන්තිමට මරාගෙන කන්නෙ. සත්ත්ව ලෝකෙ කර්ම විපාක ගෙවන්නෙ ඒ විදිහට.

ඉතින් ඔය විදිහට ඉබේ මැරිච්ච, එහෙම නැත්නම් වෙනත් සතුන් විසින් මරපු සතෙක්ගෙ මස් ටිකක් ගෙනත් කකා ඉන්නකොට, අල්ලපු ගෙදර මනුස්සය ඒක දැකල, එහෙනම් මටත් ටිකක් දීපංකො කියල තමන්ගෙ ගෙදර තියෙන පොල් ගෙඩියක් හරි හාල් සේරුවක් හරි දීල ඒ වෙනුවට මස් ටිකක් ඉල්ල ගන්නවා. ඒ අය එදා වේල පිරිවහගන්න එකක් විතරයි කළේ. ඔහොම කාලයක් යනකොට, මේක මට හොඳ රස්සාවක් කියල ඔහු මොකද කරන්නෙ, අර මස් ටික අනික් ගෙවල්වලටත් එක්ක වැඩිපුර ගේනවා. ඒක ගෙදර ගෙනත් තියාගෙන විකුණන්න පටන් ගන්නවා. ඔය විදිහට මැරිච්ච සතුන්ගෙ මස් මාංශ විකුණන කඩ වෙනම තිබුනා. අර ස්වභාවිකව මැරිච්ච සතුන්ගෙ මස් තමයි පවත්ත මාංශ හෙවත් පාංශුකූල මස් කියන්නෙ. ඊට පස්සෙ දහම ගත්තෙ නැති අය සත්තු මරලම මස් ටික විකුණන්න පටන් ගත්තා...

ඔය විදිහට මේ මස් මාංශ කතාව ගැන දීර්ඝ විස්තරයක් කරල අන්තිමට තවත් කාලයක් ගිහින් තමයි කිව්වෙ, දැන් පවත්ත මාංශ විකුණන කඩ සහ අසාධාරණයෙන් සතුන්ට වද දීල මරල සකස් කරගත්ත මස් මාංශ විකුණන කඩ එකම කඩයක් බවට පත් කරල තියෙන්නෙ, ඒ නිසා **මේ කාලෙ තියෙන මස් මාංශ කෑවම ඒක ගැලපෙන්නෙ නෑ, නුසුදුසුයි, දයානුකම්පාව මුල් කරගෙන ඒ වගේ මස් මාංශ නොකා ඉන්න පුළුවන් නම් වඩා හොඳයි කියල.** ඉතින් තුන්වෙනුව තමයි ඔය කතාව කිව්වෙ. (හෙළ බොදු පියුම 9, 10, 11, කලාප බලන්න.) එහෙම කිව්ව හැටියෙ ඒකටත් පිරිසක් විරුද්ධ වුනා, එදා කන්න හොඳයි කිව්ව දේ අද හොඳ නෑ කිව්ව කියල. නමුත් **ඇත්තටම එදත් කන්න කියල නෙවෙයි කිව්වෙ. මේ විදිහට මස් මාංශ අනුභව කරපු තැන් ත්‍රිපිටකයේ තියෙනවා, ඒක ලොකු ගැටළුවක් කරගන්න එපා කියලයි කිව්වෙ.**

ඊළඟට වහරක හාමුදුරුවො හොඳටම අසනීප වෙලා කකුලෙ ලොකු තුවාලයකුත් හැදිල ඒක සනීප වුනාට පස්සෙ, **අසාධාරණයෙන් හරි හම්බ කරගත්තු මස් මාංශ නොකෑම විශේෂ ගුණයක් කියල ලොකු විග්‍රහයක් කළා.** (හෙළ බොදු පියුම 47 කලාපය බලන්න.) නමුත් මේ කාරණය අවස්ථා 3 කදි තුන් විදිහකට තමයි කිව්වෙ. දැන් ඕකට විරුද්ධව අදටත් කතා කරන පිරිස් ඉන්නවා. ඔය වගේ තවත් අවස්ථා උන්වහන්සේගෙ දේශනාවල තියෙනවා. නමුත් ඒ එක කතාවක්වත් පරස්පර නෑ. දහම් විරෝධී නෑ. උදාහරණයක් විදිහට අපි හිතමු කෙනෙක් හෝඩියේ පන්තියෙදි අ, ආ, ඇ, ඈ... අකුරු ටික ඉගෙන ගත්ත කියල. හැබැයි ඊට ඉහළ 3, 4, 5, 6 පන්තිවලදි තියෙන්නෙත් ඒ අකුරු ටිකම තමයි. අන්තිමට විශ්වවිද්‍යාලයට ගියාට පස්සෙත් ඒ අකුරු ටිකෙන්ම තමයි ඉගෙන ගන්න තියෙන්නෙ. හැබැයි ඒ අකුරු ටික එකම වුනාට ඒකෙන් දෙන පණිවිඩය වෙනස්. හෝඩියේ පන්තියෙදි ඉගෙන ගත්තු ඒ අකුරු ටිකම දැන් අපිට විසාල පණිවිඩයක් දෙනවා. නමුත් අකුරු ටික වෙනස් වුනේ නෑ. ආං ඒ වගේ වහරක හාමුදුරුවන්ගෙ දහම් සාකච්ඡාවල මූල සිද්ධාන්ත ටික වෙනස් වුනේ නෑ. හැබැයි ඒ වටා තියෙන අනෙක් කරුණු දවසින් දවස වෙනස්, නැවුම්, විග්‍රහ සහිතයි. නමුත් ඒ වෙනස් වීම සමහරක් අයට තේරුම් ගන්න බෑ.

ඔය කාරණය නිසා උන්වහන්සේ ගිහි කාලෙ ඔය සමහර දේශනා පටිගත කරගන්න එපා කියලත් අපෙන් ඉල්ලා සිටියා. ඒ සම්බන්ධයෙන් මට අත්දැකීමකුත් තියෙනවා. ඒ තමයි අබේරත්න මහත්තයා මුණ ගැහිච්ච අළුත. දවසක් විශේෂ දහම් සාකච්ඡාවක් තිබුනා. මගේ ළඟ ඒ දවස්වල කැසට් පටි ටිකයි බැටරි කැලි ටිකයි විතරයි මල්ලෙ තිබුනෙ. දවසක් අබේරත්න උපාසක මහත්තයා කිව්වා, මෙහෙමයි ස්වාමීන් වහන්ස මේ වගේ විශේෂ සාකච්ඡා කරන්න ගියාම හරියට ප්‍රශ්න මතු වෙනවා, මේවා පටිගත කරන්න ගැලපෙන්නෙ නෑ කියල. ඉතින් ඔබ වහන්සේලා මේ සාකච්ඡාවලට ආධුනිකයිනෙ, ඒ නිසා ඔබ වහන්සේලාට අපි ඒක කරල දෙන්නම් කියල හිනාවෙලා, තවත් ගිහි මහත්තයෙකුට කතා කරල ළඟපාත කඩයකින් බැටරි කැලි ටිකක් ගෙනත් තියන්න කිව්වා. මම කිව්වා, මහත්තයෝ මගේ ළඟ තියෙනව කියල. ආ ඔව් නැත්නම් හිටිගමන් කරන්ට් එක යනවා, මීට කලිනුත් ඒ වගේ වුනා කියල ඒකට සාක්ෂියකුත් පෙන්නුවා.

ඊට පස්සෙ කැසට් පටිය දාල බැටරිත් දාල සියල්ල කරල ධර්ම සාකච්ඡාව පටන් අරගෙන විනාඩි 10 ක් විතර යනකොට කරන්ට් එක ගියා. පස්සෙ මහත්තයා හිනාවෙලා කිව්වා, මං ඕක තමයි කිව්වෙ කියල. නැවතත් පටිගත කරගෙන යනකොට කරන්ට් ආවා. ආයෙත් විනාඩි 5 - 10 ක් යනකොට ගියා. ඒ පාරත් බැටරි දාල සියල්ල සූදානම් කරල තිබුනෙ. එදා හරි රසවත් සාකච්ඡාවක් ගියේ. ඒ කියන්නෙ සාසන පරිවර්තන යුගය සිද්ධ වෙන හැටි තමයි විස්තර කළේ. සාකච්ඡාව යන අතර මට සැරයක් දෙකක් හිතුනා, විනාඩි 90 ක කැසට් පටියක් දැම්මම දැන් ඉතින් විනාඩි 45 ක් යනකොට පටියෙ අනිත් පැත්ත හරවන්න එපැයි කියල. අබේරත්න මහත්තයත් සැරින් සැරේ විදුලි පන්දම අල්ලල බලනවා. ඉතින් මමත් සද්ද නැතිව හිටියා. කොහොම හරි ගොඩක් වෙලා ගිහින් අන්තිමට පැය 1 1/2 කට විතර පස්සෙ බලනකොට කැසට් පටිය වැරදි පැත්තට දාල තියෙන්නෙ. ඒ කියන්නෙ කණපිට. ඉතින් ඒ දේශනාව මුල ඉඳලම පටිගත වෙලා නෑ. ඔය වගේ සිද්ධි ගොඩක් වුනා. විශේෂ දේශනාවලට බාධා ආවා.

ඉතින් ඒ නිසා අබේරත්න උපාසක මහත්තය ඒ කාලෙ අපිට කිව්වා, ඔබ වහන්සේලා ඕක ගිහින් ඇහුවට කමක් නෑ කාටවත් දෙන්න හදන්න ඕන නෑ, කවුරු හරි හොඳ කෙනෙක් අහු වුනොත් විතරක් මෙන්න මේ අහවල් තැන මෙහෙම ධර්ම සාකච්ඡාවක් කරනවා, ගිහින් අහල බලන්න කියල කියන්න, එතකොට යන්න ඕන කෙනා යයි කියල. ඊට එහා මේක කරන්න බෑ කිව්වා. ඊට පස්සෙ අපි ඕක දිගින් දිගටම කතා කරනකොට මහත්තය මෙහෙම කිව්වා. පටිගත කළාට හරියන්නෙ නැත්තෙ අද සමාධියට ගෙතිල එන දේශනාව මට හෙට

කරන්න බෑ. ඒක කළාට වැඩක් නෑ. මගේ ළඟට එන අයට මම පළවෙනි දවසෙ කරපු දේශනාව දෙවෙනි දවසෙ ආවම කරන්නෙ නෑ. ඒ දේශනාවම තවත් කරුණු ඇතුලත් කරල විග්‍රහ සහිතව කියල දෙනවා. තුන්වෙනි දවසෙ ආවම දෙවෙනි දවසෙ කරපු දේශනාව කරල වැඩක් නෑ. කලින් කරපු දේශනාවම තවදුරටත් විග්‍රහ සහිතව කියල දෙනවා. හැමදාම එකම දේශනාව කරලත් තේරුමක් නෑ.

පාසලක පළවෙනි පන්තියෙ ඉන්න දරුවෙකුට කියල දෙන පාඩම දෙවෙනි පන්තියෙදි කියල දීල වැඩක් නෑ. දෙවෙනි පන්තියෙදි කියල දීපු පාඩම තුන්වෙනි පන්තියෙදි කියල දීල වැඩකුත් නෑ. වසරින් වසර ඉහල පන්තිවලට යනකොට දැනුම වැඩිපුර ලබාදෙන්න කටයුතු කරල දහවෙනි පන්තියට ගියාම විභාග යට ඉදිරිපත් කරන්නත් ඕන. එහෙම නැතිව පළවෙනි පන්තියේ දරුවෙක් 10 පන්තියේ විභාගයට ඉදිරිපත් කරල වැඩක් නෑ. පන්තියෙන් පන්තිය උගන්වල අවුරුදු 10 කින් පස්සෙ ඒ විභාගයට ඉදිරිපත් කරන්න ඕන. ඒ වගේ තමයි, අළුතින් ආපු කෙනෙකුට ගැඹුරු දහමක් එක පාරටම කියන්න බෑ. කියල දුන්නට වැඩක් නෑ. ඔහුට දරාගන්න පුළුවන් ප්‍රමාණයක් කියල දෙන්න ඕන. එහෙම නැතුව තමන් දන්න සියළු ධර්මය එක පාරටම කියල දෙන්න ගියොත් ඔහුට දරාගන්න බෑ. ඒ නිසා අපි කලබල නැතිව තමන් ළඟට එන කෙනා පිළිබඳව අවබෝධයෙන් ගැලපෙන දහම් කොටස් කියල දෙන්න ඕන... මේ විදිහට මහත්තය ලොකු විස්තරයක් කියාගෙන ගියා.

ඉතින් වහරක හාමුදුරුවන්ගෙ දහම් දේශනාවල දවසින් දවස විග්‍රහ සහිතව වෙනස් වෙච්ච ස්වභාවයක් අපි දැක්කා. නමුත් ඒකෙ කිසි ගැටළුවක් නෑ. මොකද ඒ වෙනස්වීම ක්‍රමානුකූලව වැඩි පැහැදිලි කිරීම් කරා යනව මිසක් පරස්පර නෑ. අපි මේ බණ පටිවලින් පළවෙනි පටිය අහනකොට ඒකෙ අඩුපාඩු වැරදි හොයන්න යන්න එපා කියල උන්වහන්සේ එදා කිව්වෙ ඒකයි. ඒ කියන්නෙ පළවෙනි සැරේ නිකං අහගෙන යන්න කිව්වා. හැබැයි දෙවෙනි පටිය අහනකොට අර පළවෙනි පටියෙන් පිටවෙච්ච ගැටළුවලට උත්තර ඒකෙන් ලැබෙනවා. දැන් පළවෙනි එකේ අඩුපාඩු හොයන්න ගියොත් ඔහු ඉන්නෙ වැරදි අඩුපාඩු හොයන අදහසක මිසක් ඒකට ඇහුම්කන් දෙන අදහසක නෙවෙයි. ඉතින් පින් අනුමෝදනාව ගත්තමත් අවසාන කාල සීමාවෙදි උන්වහන්සේ කරපු පින් අනුමෝදනා මුල් කාලෙ ඒවට වඩා වෙනස්. මොකද ගුප්ත ලෝකයෙන් ලැබිච්ච අත්දැකීම් දවසින් දවස වැඩිවෙච්ච නිසා, ඊට අනුකූලව උන්වහන්සේ පුණ්‍යානුමෝදනාවත් වෙනස් කළා. ඒ නිසා දවසින් දවස කියන්න බැරි තරම් විශේෂත්වයක්, සුද්ධ වීමක් ඒ දේශනාවලින් ලැබුනා.

ඉස්කෝලෙ ඉන්න ගුරුවරයෙකුට වුනත් ළමයෙක් පළවෙනි පන්තියෙන් දෙවෙනි පන්තියට සමත් වුනාම, දෙවෙනි පන්තියෙන් තුන්වෙනි පන්තියට සමත් වුනාම, මාස ගණනක් යනකල් ඒ ළමයගෙ ලොකු වෙනසක් දකින්න නෑ. නමුත් මට වහරක හාමුදුරුවො මුණ ගැහිච්ච දවසෙ ඉඳන්ම දැනිච්ච දෙයක් තමයි, යන හැම දවසෙම හාමුදුරුවන්ගෙ රූපයත් වෙනස්, පැහැයත් වෙනස්, කතාවත් වෙනස්, දහම් විග්‍රහයත් වෙනස්. මේ සඟරාවෙ අභයරතනාලංකාරය කියන ලිපියේ පළවෙන හාමුදුරුවන්ගෙ පින්තූරය සහ 66 වෙනි කලාපයේ අවසන් පිටුවේ තියෙන පින්තූරය බලන්න. අපවත් වුනාට පස්සෙ දේහය පිළිබඳවත් කියන්න තියෙන්නෙ, දවසින් දවස ඒ වෙනස් වීම අනික් අයට වඩා අධි වේගවත්ව උන්වහන්සේ තුලින් දැක්කා. ඒ දේශනාත් එහෙමයි. හැබැයි එකක්වත් පරස්පර නෑ. සුද්ධ ඇතිවම කියනවා. නමස්කාරය කියන වචනයේ නිරුක්තිය ගත්තොත්, මුලින් කිව්වෙ නම හිස් කර - නමස්කාරය කියල. ඊළඟට මාස 2 - 3 ක් විතර ගියාම, නම අස් කරන ආකාරය නමස්කාරය කියල කිව්වා. එතකොට පළවෙනි විග්‍රහයයි ඒ අවසාන විග්‍රහයයි තරමක් වෙනස්. නමුත් ඒ විග්‍රහයට දෙන අදහස එකයි. ඔය වගේ උන්වහන්සේ කරගෙන ආපු දේශනා මාලාව දවස ගානෙ සුද්ධ ඇතිව කියන්න පටන් ගත්තා.

වහරක හාමුදුරුවන්ගෙ ධර්ම දේශනාවලට සමහරු විරුද්ධ වෙන්න තවත් හේතු තිබුනා. එකක් තමයි ඇහුම්කන් දෙන්නෙ නැතිකම. මමත් දැන් මහණ වෙලා අවුරුදු 36 ක් වෙනවා. අවුරුදු 40 - 50 මහණ වෙලා ඉන්න හාමුදුරුවරුත් ඉන්නවා. නමුත් වහරක හාමුදුරුවො එහෙම නෙවෙයි. අධ්‍යාත්මික ශක්තිය හුඟක් ඉහල මට්ටමක තිබුනට අළුත මහණ වුනේ. එතකොට ධර්ම සාකච්ඡාවකට ගිහින් එක පාරටම කිව්වොත් සීලය කියන්නෙ එකක්, සිල් වත කියන්නෙ තවත් එකක්, අද වගේ එදා සිල් සමාදන් වීමක් තිබුනෙ නෑ කියල, සම්මතයේ ඉන්න අය එකපාරටම අහනවා එහෙම වෙන්නෙ කොහොමද, අපි පුංචි කාලෙ ඉඳලම දහම් පාසල් ගිහින් පන්සිල් ගත්ත එකනෙ කළේ, දැන් නෑ කියන්නෙ කොහොමද කියල. ඔන්න ඔය වගේ වහරක හාමුදුරුවො බණ ටික කියල ඉවර වෙන්න කලින් සමහරු තීරණවලට බහින්න යනවා. කියල ඉවර වෙනකල් ඉන්නෙ නෑ. නමුත් ඒ ධර්ම දේශනාව මුල ඉඳලම ඇහුවොත් කවදාවත් අහක දාන්න බෑ. අහක දාන්නෙත් නෑ.


ගිහි වතක සිටිය දී

ඒ කාලෙ අපිත් එක්ක බණ අහන්න ආපු හාමුදුරුවො නමක් හිටියා. උන්වහන්සේ අපිත් එක්ක කෙලින්ම කිව්වා, මට ඕන නිවන් දකින්න නෙවෙයි, යමක් කමක් තේරෙන මිනිස්සුනේ සමාජයේ ඉන්නෙ, මගේ බලාපොරොත්තුව මේ අද ඉන්න මිනිස්සු දැනුවත් කරල ඒ මිනිස්සු ළඟට ගිහින් කිසි බයක් සැකක් නැතිව මේ දහම දේශනා කරන්න කියල. මමත් ඉතිං වටපිට බලල කිව්වා, හාමුදුරුවනේ මගේ බලාපොරොත්තුවත් ඒකම තමයි, අපි බණ අහල බණ ටිකක් කියන්න පුරුදු වෙමු, එච්චරනේ ඕන කියල. අපිට ගිහි මහත්තයෙක් බැරි නම් කවුරු වුනත් මොකද කිව්වම, ඔව් ඔව් කියල කතා වුනා. ඒ වුනාට දවස ගානෙ මට තේරෙනවා, හැමෝම කතා කරන්නෙ මේ හාමුදුරුවන්ට විරුද්ධව. එයා මේ බණ කියන්න පුරුදු වෙන කෙනෙක්නෙ... ඔහොමයි කතා වුනේ.

ඉතින් අබේරත්න මහත්තයට ගිහින් කිව්වම මහත්තයත් කියනවා, අනේ මං දන්නෙ නෑ උන්වහන්සේ බණ කියන්න පුරුදු වෙනවනෙ

කියල. ඊළඟට හිනාවෙලා කියනවා, දැන් හාමුදුරුවනේ බණ අහන්නෙ බණ කියන්න පුරුදු වෙන්නනේ, ඉතින් කියන්න පුරුදු වෙන්නත් ඉස්සෙල්ලම අහන්න එපැයි කියල. ඒ කාලේ ඉඳලම මහත්තයගෙ හිනාවෙනුත් යම් කිසි පණිවිඩයක් දෙන ස්වභාවයක් තිබුනා. ඉතින් මමත් කිව්වා, බණ කියන බලාපොරොත්තුවෙන් වුනත් කමක් නෑ, මේ බණ අහන එකනෙ ඉස්සෙල්ලම කරන්න ඕන කියල. ඔව් ඔව් කොහොම හරි අහන්න තමයි ඕන, මිනිස්සුන්ට කිය කියා යන එකක් මේකෙ නෑ, බණ ඇහුව නම් තමන්ගෙ වැඩේ කරගන්න ඕන කියල අබේරත්න මහත්තය අර පෝට්ල හාමුදුරුවන්ගෙ කතාව කිව්වා. තමන් තනියෙන් බණ අහන්න, අම්ම තාත්තගෙ ප්‍රශ්නයක්වත් අරන් එන්න එපා, තමන්ගෙ ප්‍රශ්නය විසඳගන්න, ඊට පස්සෙ මේක ප්‍රගුණ කරන්න, අර පෝට්ල හාමුදුරුවන්ගෙ කතාවෙදි ඉහ මට්ටමේ ඉඳන් ගොඩ පැත්තට එනව වගේ තමයි එහෙම ප්‍රතිඵලයක් අරගෙන බණ කිව්වොත්, ඊට පස්සෙ ඒක අහන්න සෙනග එනවා, ඒ නිසා තනියෙන් අහල වැඩේ කරගන්න, ඕක තමයි මට කියන්න තියෙන්නෙ කිව්වා.

මමත් ඉතින් ඒ හාමුදුරුවන්ට වෙනම වතාවල් දෙක තුනක්ම කරුණු පැහැදිලි කරල දුන්නා. මේ හාමුදුරුවො පොත් පැන්සල් ගෙනත් තියාගෙන අබේරත්න මහත්තය කියන බණ, නිරුක්ති එහෙම ලියනවා. හැබැයි අපි ලියන්නෙ නෑ. දවසක් මගෙන් මේ හාමුදුරුවො අහනවා, කෝ මේ ඔයා ලියන්නෙ නැනෙ සටහනක්වත් කරගන්න බලන්න, නැත්නම් කොහොමද බණ කියන්න පුරුදු වෙන්නෙ කියල. බේරෙන්න බැරි තැන මම කිව්වා, මට ඉතින් ඔබ වහන්සේගෙ සටහන ගන්න බැරියැ කියල. නෑ නෑ මගේ එක දෙන්නෙ නෑ කිව්වා. මම ඉතින් අබේරත්න මහත්තයටත් කිව්වා, මම සම්‍යක් ප්‍රයෝගයක් විදිහට මෙහෙම කිව්ව කියල. නෑ නෑ ස්වාමීන් වහන්ස ඒ වැඩේ හරි කිව්වා. අනිත් කෙනාට කියන අදහසින් වුනත් කමක් නෑ, ඉස්සෙල්ලම බණ අහන්න ඕන. හැබැයි ඒ අදහසින් ඇහුවොත් තවත් හොඳයි. මොකද එතකොට අහගෙන ඉන්නවනේ. වරද්දන්නෙ නැතිව ඉගෙන ගන්න එපැයි... ඔහොම කියල කාල සිටු පුත්‍රයගෙ කතාවත් කිව්වා.

ඉතින් ඉස්සෙල්ලම හරි හෝ වැරදි වේවා, ගිහින් අහන්න එපැයි. නමුත් වහරක හාමුදුරුවන්ගෙ බණක් ඇහුවොත් කාටවත් අහක දාන්න බෑ. හැබැයි උන්වහන්සේගෙ මෙහෙම සිරිතක් තිබුනා. කවුරුහරි යමක් කියල, ඒක එහෙම නේද කියල ඇහුවම, ඔව් කියනවා මිසක් එකපාරටම නෑ කියන්නෙ නෑ. ඊට පස්සෙ තමයි ඒ ගැන පැහැදිලි කරන්න පටන් ගන්නෙ. ඉතිං මම එක්කරගෙන ගියපු තවත් හාමුදුරුවො නමක් මහත්තයගෙන් දවසක් ඇහුවා, මහත්තය අර....... නායක හාමුදුරුවන්ගෙ පොතේ මෙහෙම තියෙනවා ඒක හරි නේද කියල. මහත්තය බුලත් විටක් හපන ගමන්, ඔව් ඔව් ඒක හරි කියල ඒ ගැන විස්තර කරන්න හදනකොටම මේ හාමුදුරුවො නැවතත් අහනවා, මහත්තය එතකොට අර.... හාමුදුරුවන්ගෙ පොතේ මෙහෙම තියෙනවා මේක මේ විදිහයි කියල ඒකත් හරි නේද කියල. ආ ඔව් ස්වාමීන් වහන්සේ ඒක හරි කිව්වා. ඒ දෙකටම හරි කියල ඒ ගැන කතා කරන්න හදනකොටම, ඊට පස්සෙ තවත් හාමුදුරුවො නමකගෙ පොතක් ගැන තමයි අහන්නෙ. එතකොට මහත්තයා අවසානයට අහපු ප්‍රශ්නයට උත්තර දෙනව මිසක් අර මුල් ප්‍රශ්න දෙක තුනම පහුවෙලා. මොකද උත්තර දෙන්නත් කලින් පනිනවා.

ඊට පස්සෙ ඒ හාමුදුරුවො මෙහේ ඇවිත් මාත් එක්ක රණ්ඩු වෙනවා, නෑ ඉතිං මහත්තය කිව්වනේ ඒ හාමුදුරුවන්ගෙ පොතේ කියල තියෙන දේ හරි කියල. මම කිව්ව හරි තමයි, ඒ හරි කිව්ව ටික පැහැදිලි කරනකල් හිටියෙ නැනෙ කියල. නෑ නෑ ඒ ගැන තව මොනව කියන්නද අහනවා. ඉතින් ප්‍රශ්නයක් අහල, ඒක එහෙම නේද කියල තමන්ගෙ මතය කිව්වම, ආ ඔව් ඒක හරි කියනවා. ඊට පස්සෙ තමයි ඒ ගැන පැහැදිලි කරන්න කතා කරන්න පටන් ගන්නෙ. නමුත් ඒකට ඉඩ දෙන්නෙ නැතිව ප්‍රශ්නය වෙනත් පැත්තකට ගෙනියනකොට ඒ පුද්ගලයා තමන්ට ලකුණු දාගෙන ඉවරයි. එතකොට ඒ අයගෙ මතවල ඒ අය ඉන්නෙ. තමන්ගෙ දෘෂ්ටියේ ඉඳගෙන තමයි ප්‍රශ්න අහල තියෙන්නෙ. ඉතිං බණ අහනකොට අපේ හිතේ වෙන අදහසක් තියාගෙන අහල හරියන්නෙ නෑ. මේ හාමුදුරුවො කවුද? මහණ වුනේ කවදද? මොන පිරිවෙනටද ගියේ? මොන උපාධියද තියෙන්නෙ?... ඔය වගේ දේවල් හිතේ තියාගෙන බණ අහල හරියන්නෙ නෑ. අනිත් කාරණය තමයි සමහරු මුල ඉඳලම බණ අහන්නෙ මේක වැරදියි කියන තැන ඉඳගෙන. එතකොට වැරදි දේම තමයි ඇහෙන්නෙ. ඊළඟ කාරණය තමයි ලාභ, කීර්ති, ප්‍රසංසාවලට ගිජු වෙච්ච අයත් මේ බණ අහන්න කැමති නෑ. මොකද ඒ බණ මිනිස්සු අතරට ගියාම තමන්ගෙ තාන්න මාන්නවලට, ලාභ සත්කාරවලට පහර වදියි කියල. නමුත් මොන විදිහකින් හරි අපි කරන්න ඕන මේ බණ අහන්න පරිසරයක් හදල දෙන එක. හැබැයි ඒක කලබල නැතිව සුදුසු විදිහට කරන්න ඕන.

වහරක හාමුදුරුවන්ගෙ බණ අහල අළුත පැවිදි වෙච්ච හාමුදුරුවො නමක් හිටියා. උන්වහන්සේ මොකද කළේ, උපසම්පදා වෙලා වසර 50 ක් පිරිච්ච තවත් නායක හාමුදුරුවො නමකට මෙහෙම ලියුමක් ලියල තිබුනා. "මොනවද මේ ඔබ වහන්සේලා කියන බණ? දැන් සාසනය අතුරුදන් වෙලා. දහම යටපත් වෙලා තියෙන්නෙ. ඔබ වහන්සේලා කරන ඒවා වැරදියි. මේං අපේ උපාසක මහත්තයෙක් ඉන්නවා, දැන් මහණ වෙලා ඒ හාමුදුරුවො තමයි නියම ධර්මය කියල දෙන්නෙ..." ඉතින් දවසක් මම ඒ නායක හාමුදුරුවො හම්බවෙන්න ගියාම මට මෙහෙම කියනවා. "මේ බලන්නකෝ මේ අය මහණ වෙලා මාස කීයද? මේං මට මෙහෙම ලියුමක් එවල තියෙනවා. මං ඒ ලියුම එහෙම්ම යැව්වා අපේ... නායක හාමුදුරුවන්ට." ඉතින් අර අළුත මහණ වෙච්ච හාමුදුරුවන්ට ඒක එහෙම නෙවෙයිනෙ කරන්න තිබුනෙ! හරි හෝ වැරදියි කියන්නෙ නැතිව, මේං මට බණ පටියක් හම්බ වුනා, ඒකෙ මොනවහරි අඩුපාඩුවක් තියේ නම් අහල බලල කියන්න කිව්ව නම්, අර හාමුදුරුවො ඒක අහන්නෙ නැද්ද? අනිවාර්යෙන්ම අහනවා. ඉතින් ලියුම ලියපු විදිහ වැරදියිනෙ!

ඔය වගේ එක අවස්ථාවක හාමුදුරුවො නමක් තමන්ගෙ ගෝලයෙකුට, නොකළ යුතු වෙලාවෙ අවවාදයක් කළාම ඒ ගෝලයා කේන්ති අරගෙන පන්සලටත් ගිනි තියල යන්න ගියාලු. ඒ නිසා ඉතින් අවවාදයක් වුනත් සුදුසු විදිහට සුදුසු වෙලාවෙදි කියන්න එපැයි! එකපාරටම ගිහින් මේ ඔක්කොම වැරදියි, දහම යටපත් වෙලා විකෘති වෙලා තියෙන්නෙ, මේං මේකයි හරි කිව්වම අහගෙන ඉන්න අය හිතනවා, මෙච්චර කාලයක් තිබ්බ එක අපිට නැතිව උන්ට කොහොමද හම්බවුනේ කියල. ඉතින් එතකොට අහන්නත් ඉස්සෙල්ල ප්‍රතික්ෂේප කරනවා. ගොඩක් දුරට වෙන්නෙ ඒක තමයි. ඒ නිසා

මම නම් කවුරු හරි බැනගෙන ආවත් ඒ පුද්ගලයට පෙරළා බනින්න එපා කියනවා. බනින කල් අහගෙන ඉන්න කියනවා. මොකද සමහරක් අය ස්වභාවයෙන්ම සැර පරුෂ විදිහට කතා කරනවා. දැන් මේ පන්සල හදපු උපාසක අම්මා ඒ ජාතියේ කෙනෙක්. එකපාරටම කැවද කියල ඇහුවත්, අනික් අයට ඒක ඇහෙන්නෙ නිකං වැරදියි වගේ. ඉතින් තරහට නෙවෙයි එහෙම අහන්නෙ. ස්වභාවයෙන්ම හැටි. දැන් පාසලක ළමයි පාලනය කරන්න ඒ වගේ උපාසක අම්මා කෙනෙකුට පුළුවන්ද? ළමයි අවනත වෙන්නෙ නැනෙ. නමුත් ඉස්කෝලෙක උගන්වන ගුරුවරියක් ඇවිත් ළමයි එක්ක කතා කළාම ඒ ළමයි ඒ කියන දේට ඇහුම් කන් දෙනවා.

ආං ඒ වගේ, ස්වභාවයෙන්ම අඩ හප්පගෙන සැර පරුෂ විදිහට කතා කරන අය ඉන්නවා. හැබැයි අපි ඒ වගේ කෙනෙක් දැක්කම ක්ෂණිකවම තීරණයක් ගන්නවා, මේ පුද්ගලය තරහට කතා කරන්න ආවෙ කියල. නමුත් කවුරු හරි බනින්න ආවම ඉස්සෙල්ලම බැනල ඉවර වෙනකල් අහගෙන ඉන්න ඕන. මොකද බැනල ඉවර වුනාම තමයි ඒ බනින ප්‍රමාණයට නැවත පෙරළා බනින්න පුළුවන් වෙන්නෙ. එහෙම නැත්නම් අපි අසාධාරණයක් කළා වෙනවා. මොකද ඒ පුද්ගලයගෙ ඇත්තටම ස්වභාවයෙන්ම හැටිද දන්නෙත් නෑ. ඇත්තටම බනින්න ආවද දන්නෙත් නෑ. ඉතිං අපි වහරක හාමුදුරුවන්ගෙ බණ පටියක් කාටහරි දුන්නමත් ඉස්සෙල්ලම කියනවා, හරි වැරදි තෝරන්න පෙර අහන්න කියල. හැබැයි ඒක අහගෙන යනකොට ප්‍රශ්න මතුවෙන්න පුළුවන්. නමුත් ඒවා ලියන්න කියන්න එපා. ඉස්සෙල්ලම අහගෙන යන්න. වැරදි අඩු පාඩු තියෙනව නම් දෙවෙනි සැරේ අහල කියන්න. අහල ඉවර වෙලා තමයි හරි වැරදි තෝරන්න ඕන.

වහරක හාමුදුරුවො මහණ වෙන දවස්වල ලස්සන සිදුවීමක් වුනා. මහණ වෙන්න දවස් දෙක තුනකට කලින් එක්තරා ආරණ්‍යයක නවතින්න ගියා. ඒ ආරණ්‍යයේ තිබ්බ්ච ඈතම කුටිය, ගල් ලෙන අවුරුදු ගණනාවක් පාළුවට ගියපු තැනක්. මනුස්සයෙකුට අවශ්‍ය මූලික පහසුකම්වත් නැති කැලේ තිබ්බ්ච හද්ද පාළු කුටියක් තමයි තාවකාලිකව සකස් කරල දුන්නෙ. ඒකට ගිහින් බැලුවම ඇත්තටම අපිටත් හරි දුකයි. වවුලු ගඳයි, ලේසියෙන් මනුස්සයෙකුට ඉන්න හදන්න බෑ. මොකද සෑහෙන කාලයක් පාළුවට ගිහින් තිබ්බ්ච කුටියක් එක දවසින්මයි සුද්ධ කරල දුන්නෙ. එතකොට අර මහා ජරා ගොඩ විතරයි මුලින් සුද්ධ වෙන්නෙ. ක්‍රමානුකූලව සුද්ධ වීමක් වෙන්නෙ නෑ. නමුත් ඒ වෙනකොට මම මහණ වෙලා අවුරුදු ගණනාවක් ගිහින් තිබ්බ්ච නිසාත්, අපේ සාසනික සම්ප්‍රදාය අනුවත්, ඒ ආරණ්‍යයේ තිබ්බ්ච හොඳම කුටිය තමයි මට හම්බ වුනේ. ඉතින් ඒ සිදුවීමත් එක්ක අකමැත්තෙන් වුනත් මට ඒකෙ ඉන්න සිද්ධ වුනා. මොකද ඒ දවස් ටිකට ගිහිව හිටියත් ඒ වගේ වැදගත් උපාසක මහත්තයෙකුට එහෙම තැනක් ලැබුනම ඒක අපිටත් දරාගන්න අමාරුයි. අපිට දහම කියල දීපු කළ්‍යාණ මිත්‍රයා. මහණ වෙන දවසෙත් උන්වහන්සේ ඒ කුටියෙමයි වැඩ හිටියෙ. අපිත් ඉතින් ඒ කුටියට ගිහින් සාකච්ඡා කර කර ඉඳල පහලට එනවා. එදා මම සාකච්ඡා කරන්න ගියාම, ස්වාමීන් වහන්සේ ඊයෙ හරි වැඩක් වුනා කියල උන්වහන්සේ මේ විදිහෙ අමුතු කතාවක් කිව්වා.

ස්වාමීන් වහන්ස, මම මේ ආරණ්‍යයට එනකොට අප්‍රමාණ දෙවි දේවතා පිරිස් ඇතුළු නොපෙනෙන ලෝකවල ඉන්න නොයෙක් අය ප්‍රීතියෙන් සාධුකාර දිදී විවිධාකාරයේ ප්‍රසංසා කරමින්, ඔබතුමා මෙහේ ඉන්න, ඔබ වහන්සේ මෙහේ වැඩ ඉන්න... ආදී වශයෙන් විවිධාකාරයෙන් හඬ නගමින් ප්‍රීති ඝෝෂා කළා. නමුත් අනිත් අයගෙ ප්‍රසංසා ආදිය දහම් මග අනුගමනය කරනකොට නිරායාසයෙන් ලැබෙන නිසාත්, ඒ ගැන හොයල බලන්න යෑම ආර්ය මාර්ගය වඩන අයට බාධා නිසාත්, මම ඒව ගැන ඒ තරම් සැළකිල්ලක් දැක්වුවෙ නෑ. යොමු කරල බැලුවෙත් නෑ. මම කුටියෙ නතර වෙලා බොහොම සුළු වෙලාවකින් කර්මස්ථාන වඩන්න පටන් ගත්තා. නමුත් වඩන්න බොහොම අමාරුයි. සමාධියට මහා බාධාවක් බව තේරුනා.

ඒ අවස්ථාවෙම මට විශේෂ කර්මස්ථානයක් සමාධියෙන්ම ආවා. ඒක විණ බන්ධන කපන අළුත්ම කර්මස්ථානයක්. මම ඒ කර්මස්ථානය විනාඩි 3 - 4 ක් විතර වඩනකොට, හරියට වතුර කලයක් බිම අතැරිය වගේ බොහ් ගාල මහ සද්දයක් ඇහුනා. ඒ භූමියේ මහා බන්ධනයක් තිබිල පිපිරිලා නිදහස් වුනා. දේවතාවො තුන් දෙනෙක් ඒ භූමියේ බන්ධනය කරල තිබුනා. එක් කෙනෙක් රිදී පාටයි. මුකුත් නෑ ඒ ගහක් වගේ ක්ෂණිකව නිදහස් වෙලා ගියා. වෙච්ච දෙයක් නෑ. අනික් දෙන්නා ගිජ්ඣකූටයට ගිහින් මම හිටපු හැම තැනටමත් ගිහින් අන්තිමට වහරකටත් ගිහින් තොරතුරු බලල නැවත තත්පර ගණනාවකින් ඇවිත් මාව හම්බ වුනා.

මේ මේ විදිහට අපි එහේ මෙහේ ගියා... අපි දැන් නිදහස් වුනා... දැන් අපි නිදහස්... අපි කොහොමද ඔබ වහන්සේට උදව් කරන්නෙ... කියල ඒ අය මගෙන් ඇහුවා. එතකොට මම නිශ්ශබ්දව හිටියා. එහෙම නිශ්ශබ්දව ඉන්නකොට ඒ අය ගරු බුහුමන් කරල, මම ඇසුරු කරපු ගෙදරදොර ආදිය ගැනත්, මගෙන් බෙත් හේත් ගන්න ආපු අය ගැනත්, ගෙදර දොරේ ඉන්න අය ගැනත්... ආදී බොහෝ දේවල් මාත් එක්ක කියන්න ගත්තා. ඔබතුමාගෙ මේ වෙන් වීම පිළිබඳ ගෙදර උදවිය මහා සංවේග යෙන් ඉන්න බවත්, මේ බණ දහම ශ්‍රවණය කරපු පිරිස අප්‍රමාණ සතුටින් ඉන්න බවත්, බෙත් හේත් ප්‍රතිකාර ලබා ගනිමින් හිටපු බොහෝ දෙනා තමන්ට වෙච්ච පාඩුව පිළිබඳව මහා කණගාටුවකින් ඉන්න බවත් කිව්වා. ඒ දේවතාවො තුන්දෙනාගෙන් එක්කෙනක් නොපෙනී ගිහින් අනික් දෙන්න මේ සියළු තොරතුරු ඉතාම සුළු කාලයකදී හොයල බලල දැනුවත් වෙලා ප්‍රකාශ කළා. ඒක මහ අමුතු හැකියාවක්. මේ විදිහට බොහෝ දේවල් පිළිබඳව ඒ දේවතාවො මට ප්‍රකාශ කළත්, මම ඒ ගැන කිසිම ප්‍රතිචාරයක් දැක්වුවෙ නැති නිසා ඔවුන් විවිධාකාරයෙන් මට ප්‍රසංසා කරල ගරු බුහුමන් කරල බොහොම බැගෑපත්ව, අවශ්‍ය ඕනම උදව්වක් උපකාරයක් කියන්න අපි කරල දෙන්න සූදානම් කියල තුන් වතාවක්ම කිව්වා. නමුත් මම නිහඬවම හිටපු නිසා ඔවුන් පස්සෙන් පස්සට ගිහින් මාව නොපෙනී යනකල්ම යන්න ගියා.

මේ විදිහට කියල උන්වහන්සේ නැවතත් කියනවා, මේ කුටියෙ එහෙම ලේසියෙන් කෙනෙකුට ඉන්න පුළුවන් එකක් නෙවෙයි, මේ පන්සලේ මේ කුටිය ආරක්ෂා කරගන්න බැරිව තමයි පාළුවට ගිහින් තියෙන්නෙ කියල. ඊට පස්සෙ ඉතින් මම මොකද කළේ, පහලට ඇවිත් ඒ ආරණ්‍යයේ නායක හාමුදුරුවන්ව සම්‍යක් ප්‍රයෝගයකින් වහරක හාමුදුරුවො ළඟට එක්කගෙන ගියා. පස්සෙ වහරක හාමුදුරුවො උන්වහන්සේගෙන් ඇහුවා, ස්වාමීන් වහන්ස මේ පන්සල, ගුරුකම් කරන වෙද මහත්තයෙක් ලවා ☞



# පූතිමුත්ත භේසජ්ජයෙන් සුවපත් වූ පිළිකා රෝගියෙක්...

බුදු රජාණන් වහන්සේ ගිරිමානන්ද සූත්‍රය දේශනා කරමින් "කතමාචානන්ද ආදීනව සඤ්ඤා" යනුවෙන් ජීවිතයේ ආදීනව වශයෙන් වැළඳෙන රෝග පිළිබඳව දීර්ඝව විස්තර කරල දේශනා කරල තියෙනවා. ගිරිමානන්ද සූත්‍රයේ චක්ඛු රෝග, සෝත රෝග... ආදී වශයෙන් ඇස් රෝග, කනේ රෝග, නාසයේ රෝග, දිවේ රෝග, ශරීරයේ රෝග, කාසය (ක්‍ෂය) ඇදුම, පීනස, බඩ දැවිල්ල (අම්ල පිත්ත ප්‍රදාහය), උණ, උදරාබාධ, සිහි මුර්ජාව, ලේ බඩයාම, ඉදිමුම, බඩ රිදුම, ලාදුරු, ගඩු, සුදු කබර, මළබද්ධය, අපස්මාරය, වණ, පණු රෝග, කැසිල්ල, විදාරණය හෙවත් පිටදෑමීම, නිය රෝග, සැරව බිබිලි, රක්තානු වැඩිවීම, දියවැඩියාව, අර්ශස්, පිළිකා, භගන්දරා, පිත්තාශ ආබාධ, සීතල, තද උණ, බඩගින්න, පිපාසය, මුත්‍ර අඩස්සිය කියන රෝග ආදීනව සංඥා විදිහට දක්වා තියෙනවා.

මේ රෝගවලට ප්‍රතිකාර වශයෙන් **"පූතිමුත්ත භේසජ්ජා තත්ථ තේ යාවජීවං උස්සාහෝ කරණීයෝ"** කියල, **දිවි ඇති තෙක් පූතිමුත්ත හෙවත් ස්වමුත්‍ර (අමරෝලි) පානයේ උත්සාහ කළ යුතු බව** (මහා වග්ග 1 - 238 පිටුව) දේශනා කරල තියෙනවා.

වෙල්ලන් ධර්මනායගම් මහතා මීරිගම ප්‍රදේශයේ පදිංචිකරුවෙක්. වයසින් 50 ☞

---

මොනව හරි කරල ආරක්ෂා කළාද කියල. එතකොට උන්වහන්සේ ගෝල හාමුදුරුවන්ගෙ මුහුණ දිහා බලල නෑ මුකුත් කළේ නෑ කිව්වා. එතකොට වහරක හාමුදුරුවො කියනවා, නෑ නෑ ස්වාමීන් වහන්ස ඉතින් පන්සලේ වුනත් කරදර බාධක තියෙනවනේ, අපි හැමෝටම ඉතින් කරදර බාධක නැති තැනක් නෑනෙ, මොනව හරි ඒ වගේ නිකං ආරක්ෂාවක් රැකවරණයක් දාපු එකක් කවුරුහරි පිටින් කට්ටියක් ගෙන්වල කළාද කියල. දෙවෙනි සැරෙත් නෑ කිව්වා. නෑ නෑ මේක කරල ඇති, ඔබ වහන්සේට මතක නැතිව ඇති, ටිකක් කල්පනා කරල බලන්නකෝ... හැබැයි ආරක්ෂාව කළාට මේ කුටිය නම් ආරක්ෂා කරල නෑ... ආදී වශයෙන් තොරතුරු කියනකොට, ඔව් ඔව් අපි මේ කුටිය නම් ආරක්ෂා කළේ නෑ, ඉස්සර අපි පන්සල පැත්ත නම් ආරක්ෂා කළා කිව්වා. නෑ නෑ ඉස්සර නෙවෙයි, මේ ළඟදී මේ කුටියෙ මේ වගේ බන්ධනයක් තිබිල නිදහස් වෙලා ගියා කියල වහරක හාමුදුරුවො කියනකොටම අර හාමුදුරුවො කිව්වා, ඇත්ත... මේ කුටියෙ කාටවත් ඉන්න බෑ තමයි, පිටින් කවුරු ආවත් අපි මේ කුටිය තමයි දෙන්නෙ, එක දවසයි එක රැයයි ඉන්නෙ කකුල් දෙකෙන් අල්ලල එළියට ඇදල දානවා, ඊට පස්සෙ යන්න යනව කියල. අපි ඉතින් පිටින් එන අයට දෙන්නෙ මේ කුටිය තමයි කියලත් කිව්වා.

ඊට පස්සෙ මම ක්‍ෂණිකවම කිව්වා, හරි වැඩේනෙ හාමුදුරුවනේ දැන් අපේ වහරක ස්වාමීන් වහන්සේටත් ඔය වැඩේමනේ කරල තියෙන්නෙ කියල. එතකොට මේ හාමුදුරුවො එකපාරටම වෙනස් වුනා. ඒත් එක්කම වහරක හාමුදුරුවො උන්වහන්සේව අපහසුතාවයට පත් වෙච්ච බව දැකල එක පාරටම කිව්වා, නෑ නෑ ඒකෙ ප්‍රශ්නයක් නෑ කියල. මම කිව්වා, ප්‍රශ්නයක් නැත්තෙ ඔබ වහන්සේටනේ, දැන් බැරි වෙලාවත් අපි වගේ කෙනෙක් මේ කුටියට දැම්ම නම් මොනවද වෙන්නෙ කියල. නෑ නෑ ඒකෙ ප්‍රශ්නයක් නෑ, ඒක දැන් ඉවරයි කිව්වා. ළඟ ඉන්න අනිත් අයව ප්‍රසිද්ධියේ පෞද්ගලික අපහසුතාවයට පත් නොවෙන්න කතා කරන එහෙම ගුණයක් උන්වහන්සේ ළඟ තිබුනා. ඉතින් උන්වහන්සේ වඩපු ඒ කර්මස්ථානයෙන් ඒ ස්ථානයේ තිබ්බච්ච බන්ධනය පුපුරල ගියා කියලත්, සියළු විණ බන්ධන හිර බන්ධන... ආදිය විනාස වෙලා ගියා කියලත්, කිසිම ආරක්ෂාවක් ඉදිරියේදි සිද්ධ කරන්න අවශ්‍ය නෑ කියලත් කිව්වා. ඒ වගේම මේ ස්ථානය ඉදිරියේදි ඉතා ප්‍රසිද්ධ ඓතිහාසික ස්ථානයක් බවට පත්වෙනව කියලත් ප්‍රකාශ කරල, අපිටත් ඒ කර්මස්ථානය වඩන්න කියල ඒ අවස්ථාවෙම ඒ කර්මස්ථානය දුන්නා. ඉතින් දැන් ඉන්න පින්වතුන්ගේ යහපතටත් එක්ක ඒ විශේෂ කර්මස්ථානය සටහන් කරගන්න. රාග සහගත, ද්වේශ සහගත, මෝහ සහගත සියලු බන්ධන (සුනු විසුනු වෙත්වා).../// රාගක්ඛය වූ, ද්වේශක්ඛය වූ, මෝහක්ඛය වූ (උතුම් නිවන් සුව අත්වේවා)...///

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

හැවිරිදි ඔහු (2006) කම්කරුවෙක් විදිහට ජීවත් වෙනවා. ඔහුට පිළිකා රෝගය හැදිල ස්වමුත්‍ර පානයෙන් සුවපත් වෙච්ච හැටි ඔහුගේ වචනයෙන්ම විස්තර කරල තියෙනවා. ("ත්‍රිපිටකයේ විස්මිත බෙහෙත" නම් පොත - 41 පිටුව) ඔහුට වැළඳිලා තිබුණෙ ශරීරය පුරා රුධිරය සමග පිළිකා සෛල පැතිරිලා ගිය ගෙඩි පිළිකාව හෙවත් ගඩු පිළිකාව.

"මහත්තයා, මට දැන් වයස අවුරුදු 50 යි. මගේ අම්මා සිංහල. තාත්තා දෙමළ. දරු පවුල පෝෂණය කරන්න මම මීරිගම නගරයේ බර උස්සන කම්කරුවෙක් විදිහට රස්සාව කළා.

2002 අවුරුද්දේ මගේ ඇඟ හැම තැනම ගෙඩි වගයක් පිට දම්මා. කිසිම වේදනාවක් නෑ. ගෙඩි හැදෙනවා, පැසවනවා, සැරව ගලනවා. විදුරුමහේත් ගෙඩි හැදුණා. ඇගේ ශක්තිය හීන වුණා.

මීරිගම ඉස්පිරිතාලෙට ගිහින් මේ ගෙඩි කපල ඉවත් කළා. එතැන හොඳ වෙනකොට තව තැනකින් ගෙඩි මතු වෙනවා. නැවතත් මීරිගම ඉස්පිරිතාලෙට ගියාම මට කිව්වා, වතුපිටිවල රෝහලට යන්න කියල. මම කෙලින්ම වතුපිටිවල රෝහලට ගියා. එතනදි මට ප්‍රතිකාර කළේ රංජිත් කොල්ලුරේ කියන දොස්තර මහත්තයා වගේ තමයි මතක.

වතුපිටිවල රෝහලෙන් මගේ ඇඟේ තිබ්බුච ගෙඩියක් කපල මහරගම රෝහලට පරීක්ෂණයට යවල තිබුණා. ඒ වාර්තාවට අනුව මට මහරගම පිළිකා රෝහලට යන්න සිද්ධ වුනා. මාව පරීක්ෂා කළ දොස්තර නෝනා කෙනෙක් කිව්වා, මට හැදිල තියෙන්නෙ ගඩු පිළිකාවක්, වහාම රෝහලේ නතර වෙන්න කියල. මම එදා නතර වුනා.

රෝහලේ ඉන්න පිළිකා රෝගීන් දැක්කම මට හිතට බයක් දැනුණා. පිළිකාව කියන්නෙ තවම හරියටම බෙහෙතක් හොයා ගත්ත ලෙඩක් නෙවෙයි, මරණය ස්ථිරයි කියන හැඟීම මට ආවා. ඒ වගේම මම දුප්පත් මිනිහනේ! එදා වේල හරි හම්බ කර ගත්තෙ අමාරුවෙන් දුක් විඳල. පවුලේ අය ගැනත් මතක් වුණා. ඊළඟට මට අවශ්‍ය පෝෂ්‍යදායී ආහාර, බෙහෙත් වර්ග? මට මෙතන හිටියත් මරණය, ගෙදර ගියත් මරණය. කොහොමත් එකයි කියල පහුවදා පාන්දරම මම ඉස්පිරිතාලෙන් පැනල ගෙදර ගියා.

මගේ ශරීරයේ ශක්තිය හීන වුණා. මානසිකව වැටුණා. ඒ නිසාම අරක්කු බොන්න පටන් ගත්තා. මෙහෙම ඉන්න කොට දවසක් මට කල්පනා වුණා, දැන් මට මහන්සි වෙන්නත් බෑ, වැඩ කරන්නත් බෑ, මගෙන් වැඩ ගත්ත අයගෙන් උදව්වක් පිහිටකුත් නෑ, ලෝකයේ ආගම දහම කියල දෙයක් තියෙනව නේද, මමත් මරණයට නියම වෙච්ච මිනිහෙක් නේද කියල.

ගඩු පිළිකා සැත්කම් කරල ඉවර කරන්නත් බෑ. එකක් කපන කොට තව තැනකින් දෙකක් හැදෙනවා. දණහිස් පොල් කටුවෙත් ගෙඩි හැදුණා. විදුරුමහෙත් හැදිල පැසවල දත් තුනක් හැලුණා. ඔළුවෙත් ගෙඩි, බඩෙත් ගෙඩි, අතපයවලත් ගෙඩි. මම මගේ දුප්පත්කමට පන්සල් ගානෙ යන්න පටන් ගත්තා. රස්සාව කර ගන්නත් බෑ. පවුලෙ ප්‍රශ්නත් වැඩි වුණා. අන්තිමේ මම යාචකයෙක් බවට පත් වුණා.

දවසක් මම ආරණ්‍යයකට ගියා. එතන හිටපු ලොකු හාමුදුරුවො කිව්වා, මෙතන භාවනා කරන තැනක්, තමුසෙ නවත්වගන්න ඉස්පිරිතාලයක් නෙවෙයි, අපට කරදර නොකර යන්න කියල. හැබැයි ඒ හාමුදුරුවන් දැක්කම මට මොකක්දෝ දෙයක් හිතට දැනුණා. ඉතින් මම ආපහු පිටත් වෙලා ගියා. ටික දවසකින් නැවතත් ඒ ආරණ්‍යයට ගියා.

එදා හාමුදුරුවො කිව්වා, මේ මනුස්සයගෙන් බේරෙන්න බැනෙ, හරිම කරදරයක්නෙ කියල. හොඳයි තමුසෙට බෙහෙතක් කියන්න ඒක කරනවද කියල ඇහුවා. මමත් ගත් කටටම, එහෙමයි හාමුදුරුවනේ කිව්වා. එහෙනම් උදේ පාන්දර පිට කරන මුත්‍ර දහරාවෙ අග මුල අතහැරල මැද කොටස පිරිසිදු කෝප්ප බාගයක් බොන්න බලන්න කිව්වා. මම ඒ විදිහටම උදේ පාන්දර පූතිමුත්ත භේසජ්ජය පාවිච්චි කළා. ඒ වගේම මුත්‍රවලින් හිස හා ශරීරය පිරිමැදීම් කළා. මාසයක් විතර යනකොට ශරීරයේ තිබ්බුච ගෙඩි නැතිවෙලා ගියා.

මේ වෙන කොට ඇත්තටම මම යාචකයෙක්. හාමුදුරුවො මට උපදෙස් දුන්නෙ, තමුසෙට සනීප වෙන්න ඕන නම් පස් පවෙන් වැළකිලා මේ බෙහෙත ගන්න කියල. මෙහෙම කරන කොට මට බුද්ධ ධර්මය ගැන හැඟීමක් උනන්දුවක් ඇති වුණා. මගේ ගෙදර සාංඝික දානයක් දෙන්නත් හිතුණා. මම ගමෙන් පිට පන්සල්වලට ගිහින් උදව් උපකාර ලබා ගෙන ඇවිත් ගමේ හාමුදුරුවන් වඩම්මවල සාංඝික දානයකුත් දුන්නා.

මස්, මාළු, ලුණු වැඩි ආහාර ගත්ත දවසට උදේ මුත්‍රවල අප්‍රසන්න ගතියක් තියෙනවා. එළවළු, පළතුරු විතරක් කාපු දවසට කිසිම අම්හිරි අපුල ගතියකුත් නෑ. මම දැන් දිනපතාම උදේට ලොකු අශෝක වීදුරුවකින් එකක් මුත්‍ර පානය කරනවා. දිනපතා මුත්‍ර පානය කිරීම නිසා විදුරුමස් රෝග සනීප වුණා. බුරුල් වෙච්ච දත් ශක්තිමත් වුණා. දැන් ඕනෑම තද දෙයක් හපල කන්නත් පුළුවන්. බඩේ තිබ්බුච දැවිල්ල ගතියත් සනීපයි.

මට මේ විදිහට සනීප වෙන්න ලැබුණෙ පන්සල් ඇසුර නිසා. නැත්නම් මම දැනට වළපල්ලෙ. මට උදව් කළ හාමුදුරුවන්ට හැමදාම මම පින් දෙනවා.

මගේ විස්තරේ පත්තරේ දානවට අපේ පවුලෙ අය නම් කැමති නෑ. ඒත් මගේ ජීවිතේ බේරුණා වගේ තවත් රෝගීන් සනීප වෙනව නම් ඒක ලොකු පින්කමක්. මේ ගැන පළ කරන්න පත්තර, සඟරාවල මහත්වරුන්ටත් පින් සිද්ධ වෙනවා.

හිත නිරෝගී වුණොත් තමයි ශරීරය නිරෝගී වෙන්නෙ. පස් පවෙන් වැළකිලා මේ බෙහෙත බොන්න කියන්නෙ ඒකයි. දැන් මගේ කීමට දියවැඩියාව, අධි රුධිර පීඩනය, අර්ශස් වැළඳුණු හාමුදුරුවරු හා ගිහියන් ගණනාවක් මේ බේත අරගෙන සනීප වෙලා තියෙනවා.

මං සුවපත් කළ හාමුදුරුවන්ට ගුරු පූජාවක් විදිහට මට පුළුවන් ආකාරයෙන් ආරණ්‍යයේ අළුත්වැඩියාවලට සිමෙන්ති කොට්ටයක් කර තියාගෙන සැතපුම් බාගයක් කන්ද නැගල ගිහින් පූජා කළා."

**මතුගම මහින්ද විජේතිලක**
**"ත්‍රිපිටකයේ විස්මිත බෙහෙත" ග්‍රන්ථයේ සංස්කාරක**
**071 - 6398690**



# පෙළ දහමේ සැඟවුනු තැන් සොයා... 06

**අංගුත්තර නිකාය - 5**

**සීහ සේනාපති සූත්‍රය - 57 පිටුව**
අස්සාසකෝ සමණෝ ගෝතමෝ අස්සාසාය - ධම්මං දේසේති
ශ්‍රමණ ගෞතම ආස්වාසක වූයේ ආස්වාසය පිණිස දහම් දෙසන්නේය. මෙතැන ආස්වාස යනු හුස්ම නොවන බව පැහැදිලියි.

මේ සූත්‍රයේම සීහ සේනාපති තර සිව්පාවෙකුගේ පවත්ත මාංශයකින් යුතු භෝජනයෙන් බුදු රජුන් ඇතුළු සංඝයාට දානයක් දුන් බවත්, එදින නිගණ්ඨයෝ, මැරූ සතෙකුගේ මසින් සීහ සේනාපති දානයක් දෙනවා යැයි වීදිවල හඬ නගමින් චෝදනා කළ බවත් සඳහන් වේ.

**අක්ඛණ සූත්‍රය - 133 පිටුව**
මේ සාසනයෙහි ක්‍ෂණය නම්, මිනිසෙක්ව ඉපිද ධර්ම ශ්‍රවණයට අවකාශ ලැබීමයි.

**දානූපපත්ති සූත්‍රය - 159 පිටුව**
සිල්වත්ව දන් පෙත් දී සග ලොවක් (දෙව් ලොවක්) පතා නම්, එය ඉටු වන බව පෙන්වයි. දන් පෙත් දී සිල්වත්ව වීතරාගීව බඹ ලොව පැතීමෙන් බ්‍රහ්ම කායික දෙවියන් අතර උපදී.

**පුඤ්ඤකිරිය වස්තු සූත්‍රය - 163 පිටුව**
දානමය සීලමය පුණ්‍ය ක්‍රියා අධි මාත්‍රව කොට භාවනා පුණ්‍ය ක්‍රියාව නොකිරීමෙන් සදෙව් ලොව උපදින බව (වසවර්ති දේව පුත්‍රද ඇතුළුව) පෙන්වා ඇත.

**කාමාධි වචන සූත්‍රය - 251 පිටුව**
කාමයට කියන නම් 8 ක්. භය, දුක්ඛ, රෝග, ගණ්ඩ, සල්ල, සංග, පංක, ගබ්භ

**සංඛිත්ත දේසිත සූත්‍රය - 269 පිටුව**
ඇතැම් හිස් පුඟුලෝ (පුද්ගලයෝ) දහම් දෙසන්නට යැයි කියත්. දෙසූ කල්හි මම ලුහු බැඳිය යුතු කොට සිතත්. (බුදුන් වහන්සේ)

**අධි දේව ඥාන දස්සන සූත්‍රය - 277 පිටුව**
බුද්ධත්වයට පෙර දිවැස් සඳහා ආලෝකය පමණක් තිබූ බවත්, ඒ දිවැස් සමාධිය ක්‍රමයෙන් වැඩූ විට දෙවියන් පිළිබඳ සියලු තොරතුරු දුටු අයුරුත් පෙන්වා ඇත.

**පරිස සූත්‍රය - 285 පිටුව**
බුදුන් වහන්සේ ලොව අට පිරිස් වන ක්‍ෂත්‍රීය, බ්‍රාහ්මණ, ගෘහපති, සමණ, චාතුර් මහා රාජික, තාවතිංස, මාර, බ්‍රහ්ම යන පිරිස් වෙත එළඹෙන විට අනුකූල රූ මවාගෙන ගොස් අනුසාසනා කළ ක්‍රමයක් අනුගමනය කළ අයුරු පෙන්වයි.

**භූමිචාල සූත්‍රය - 291 පිටුව**
සිව්වනක් පිරිස ව්‍යක්ත, විනීත, විශාරද, බහුශ්‍රැතව ධර්මය විනය දකින තුරු, අධර්මය අවිනය පිටු දකින්න දක්‍ෂ වෙනතුරු බුදුන් වහන්සේ පිරිනිවන් නොපෑ බව පෙන්වයි.

**පඨම මරණ සති සූත්‍රය - 305 පිටුව**
මරණ සතිය වඩන අයුරු පෙන්වයි. මේ සූත්‍රයේ "බහුංවත මේ කතං අස්සාසී" යනුවෙන් සාසන දහම් අස්සාසය ගැන පෙන්වයි. එය හුස්ම හෝ වායුව නොවන බව මෙයින් පැහැදිලි වේ.

**තථාගතාධි වචන සූත්‍රය - 347 පිටුව**
තථාගතයන් වහන්සේට කියන නම් ශ්‍රමණ, බ්‍රාහ්මණ, වේදගූ, භිසක්ක, නිර්මල, විමල, ඥාණී, විමුක්ත

**සේවිතබ්බා සේවිතබ්බ සූත්‍රය - 395 පිටුව**
භික්‍ෂුවකට නිවන් මග වැඩීමේදී සෙවිය යුතු හා නොසෙවිය යුතු දේ පෙන්වයි.

**සුතවා පරිබ්බාජක සූත්‍රය - 397 පිටුව**
රහතන් වහන්සේගෙන් විය නොහැකි කරුණු 5 සඳහන්ව ඇත.

**ආහුනෙය්‍ය පුග්ගල සූත්‍රය - 401 පිටුව**
අෂ්ටාර්ය පුද්ගල පිරිසට ගෝත්‍රභූ පිරිස එක් කර ආහුනෙය්‍යාදී ගුණ ඇති නව පිරිසක් පෙන්වා ඇත.

**සෝපාදිසේස සූත්‍රය - 415 පිටුව**
මාර්ගඵල ලාභියාගේ සසර ගමනේ රටාවත්, සතර අපායෙන් මිදීමත් විස්තර කරයි. මේ ධර්ම පර්යාය සිව් පිරිසට දෙසන තුරු නොවැටහෙන බවත්, ඔවුන් එය කල් තබා දැනගත්තේ නම්, ප්‍රමාද වන්ට හේතු විය හැකි බැවින් මුල් කාලයේ දේශනා නොකළ බවත් සඳහන් වේ.

**දේවතා සූත්‍රය - 433 පිටුව**
අල්ප ශාක්‍ය හා මහේ ශාක්‍ය දේවත්වයට හේතු පෙන්වයි.

**පඨම වෛර භය සූත්‍රය - 460 පිටුව**
ක්‍ෂය කළ නිරය ඇත්තෙම්... ආදී වශයෙන් කැමති නම් සෝතාපන්න වෙමියි තමා ප්‍රකාශ කරන්නේය.

**අනුපුබ්බ නිරෝධ සූත්‍රය - 465 පිටුව**
නව අනුපූර්ව නිරෝධය පෙන්වා ඇත.

**ධ්‍යාන නිස්සය සූත්‍රය - 489 පිටුව**
ප්‍රථම ධ්‍යානයේ පටන් ආශ්‍රව ක්‍ෂය පෙන්වා ඇත.



# වසවිස ආහාර වලට එරෙහි විකල්ප 01

අපේ රටේ තවමත් ප්‍රධාන ආහාරය විදිහට භාවිතා කරන්නෙ බත්. හැබැයි ඉස්සර අපේ මුතුන් මිත්තන් අනුභව කරපු හාල්වලින් උයපු බත් නෙවෙයි අද අපිට අනුභව කරන්න ලැබෙන්නෙ. ජාන තාක්ෂණයෙන් විකෘති කරපු හාල් වර්ග, දෙමුහුම් හාල් වර්ග, එහෙම නැත්නම් අධික කෘෂි රසායන යොදපු හාල් වර්ග, එහෙමත් නැත්නම් විදෙස් රටවලින් එන මේ වගේ විවිධ ක්‍රමවලින් සකස් කරපු හාල් වර්ග. වර්තමානයේ 90% කටත් වැඩියෙන් මේ වගාවන්ට රසායනික ද්‍රව්‍ය, රසායනික පොහොර, කෘමිනාශක යොදනවා. අඩු මිලට වැඩි අස්වැන්නක් ගන්න තමයි ඒවා කරන්නෙ. නමුත් ඒකෙ අවසන් ප්‍රතිඵලය අති භයානකයි. ඒ කාරණය මේ වෙනකොටත් ඔප්පු වෙලා හමාරයි. උපදින පොඩි එකාගෙ පටන් තුන් කුදු මහල්ලා දක්වාම බෝ නොවන මාරාන්තික ලෙඩ රෝග බහුල වෙලා. විශේෂයෙන් රටට බත සපයන ගොවියන්ගෙන් බහුතරයකටම වකුගඩු රෝග. දැන් ඉතින් ඔක්කොටම ඉස්සෙල්ල ශරීර සෞඛ්‍යය රැකගෙන ජීවිතය බේරගන්න තමයි සටන් කරන්න වෙලා තියෙන්නෙ.

මේ ආහාරවලින් කෘෂි රසායන යොදපු ආහාර වර්ග ගැන මීට කලින් විස්තර කළා. ඒ නිසා ඒ ගැන නැවත කියන්න අවශ්‍ය නෑ. ඊට අමතරව දැන් තියෙන හාල් වර්ගවල පෝෂණ ගුණය සහ ප්‍රතිශක්තිය ඉතාමත් හීනයි. කෙටියෙන් කියනව නම් නිකං රොඩ්ඩ විතරයි. ඒකට ප්‍රධාන හේතු කිහිපයක් තියෙනවා. පළවෙනි එක තමයි, දැන් තියෙන හාල් ස්වභාවිකව ලෝක පරිනාමයත් සමග මනුස්සයින්ගෙන් පිටවෙච්ච ගුණයන්ට අනුරූප වූ ශක්තීන්ගෙන් හට ගත්ත හාල් නෙවෙයි. කෘතීමව ජාන තාක්ෂණය යොදාගෙන ඉක්මනින් වැඩි අස්වැන්නක් ගන්න සකස් කරපු ඒවා. ඒ වගේම කෘෂි රසායන භාවිතය නිසා ඒවායේ තියෙන ගුණාත්මක භාවය තවත් හීන වෙලා. විශේෂයෙන් ඒවත් එක්ක එන බැර ලෝහ වර්ග ඉතා හානි කරයි.

ඒ නිසා ඒ හාල්වලින් සකස් කරන බත් අනුභවයෙන් යම් කිසි ආකාරයකට කුසගින්න නිවුනත්, මනුස්සයෙක් වශයෙන් කායික මානසික සමබරතාවය රැකගෙන එදා වගේ වැඩක් පලක් කරගන්න තරම් ශක්තියක් නෑ. ඒ වගේම තමයි කුසගිනි නිවීම වුනත් ඉතාමත් කෙටි කාලයකටයි තියෙන්නෙ. ඉස්සර වගේ එක වේලක් කාල සෑහෙන වෙලාවක් ඉන්න බෑ. ඉක්මනට බඩගිනි වෙනවා. ඊට අමතරව කෘෂි රසායනවල අඩංගු වස විස ශරීරගත වීම නිසා විවිධාකාරයේ ලෙඩ රෝග හැදීමේ ප්‍රවණතාවයත් වැඩිවෙලා තියෙනවා. ඒ නිසා අපේ පැරැන්නන් අනුභව කරපු හෙළ හාල්වලට දැන් මේ තියෙන හාල් සමාන කරන්න බෑ. **පැරණි සාම්ප්‍රදායික හාල් වර්ගවලට වඩා නවීන හාල් වර්ග පෝෂණ ගුණයෙන් හා ඖෂධ ගුණයෙනුත් හීනයි, රෝග නිවාරණය කිරීමේ හැකියාවත් ඉතා අඩුයි.**

පැරණි හාල් වර්ග කියන්නෙ, විශේෂයෙන් ආභස්සර බ්‍රහ්ම ලෝකයේ පටන් මනුස්සයා ක්‍රමයෙන් පල්ලම් බැහැල පරිනාමය වෙනකොට මනුස්සයින්ගෙන් පිටවෙච්ච ගුණයන්ට අනුරූප වූ ශක්තිවලින් හට ගත්ත කොටස්. එතකොට ඒ කොටස්වල තැන්පත් වෙලා තියෙන්නෙ එදා හිටපු මනුස්සයින්ගෙ යහපත් ගුණවලට අදාළ ශක්ති විශේෂ. දැන් ඒවා අනුභව කරනකොට ලැබෙන්නෙත් ඒ ☞

---

**තපුස්ස ගෘහපති සූත්‍රය - 514 පිටුව**

තපුස්ස ගෘහපතියා ආනන්ද හිමියන්ට, තරුණ කල කෙනෙක් කාමයන්ගෙන් වෙන්ව ශාන්ත ප්‍රණීත නෛෂ්ක්‍රම්‍යය දැකීම දුර්ලභ කරුණක් බව කී විට, බුදුන් වහන්සේ කාමයන්ගේ ආදීනව බැලීමෙන් නෛෂ්ක්‍රම්‍යයේ ආනිසංස බැලීමෙන් එය කළ හැකි බව පෙන්වා ඇත.

**සම්බාධ සූත්‍රය - 535 පිටුව**

ධ්‍යානයන් පවා සම්බාධ ලෙස වැටහෙන්නේ ඊට ඉහල ධ්‍යානවලට යන විටය. මුළු ලොව සියල්ල සම්බාධ ලෙස වටහාගන්නා ක්‍රමය පෙන්වා ඇත.

**කායසක්ඛී සූත්‍රය - 538 පිටුව**

ප්‍රථම ධ්‍යානයේ පටන් නේවසඤ්ඤා නාසඤ්ඤා දක්වා පර්යාය (අනිවාර්ය) වශයෙන්ද, නිරෝධයේදී නිෂ්පර්යාය (අතිරේක) වශයෙන්ද කායසක්ඛී (කාය සාක්ෂි) පුද්ගලයා පෙන්වා ඇත.

**පඤ්ඤා විමුක්ත සූත්‍රය - 539 පිටුව**

ප්‍රථම ධ්‍යානයේ පටන් විදර්ශනා නුවණින් ස්පර්ශ කිරීමේ පටන් නේවසඤ්ඤා නාසඤ්ඤා දක්වා පර්යාය වශයෙන්ද, නිරෝධ සමාපත්තියේදී නිෂ්පර්යාය වශයෙන්ද ප්‍රඥා විමුක්තයා පෙන්වා ඇත.

**උභතෝ විමුක්ත සූත්‍රය - 541 පිටුව**

ප්‍රථම ධ්‍යානයේ පටන් විදර්ශනා ඥානය සමග නේවසඤ්ඤා නාසඤ්ඤායතනය දක්වා පර්යාය වශයෙන්ද, නිරෝධ සමාපත්තියේදී නිෂ්පර්යාය වශයෙන්ද උභතෝ විමුක්තයා පෙන්වා ඇත.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

ශක්තිය. මේ ගැන විස්තරයක් හෙළ බොදු පියුම 26 - 32 දක්වා කලාපවල විස්තරාත්මකව පළ කරල තියෙන නිසා නැවත විස්තර කරන්න අවශ්‍ය නෑ.

සුවඳැල්, කළු හීනටි, සුදු හීනටි, මඩතවාලු, පච්චපෙරුමාල්, කුරුළුතුඩ, රත්කඳ සහල්, රන්කහවණු, බටපොලඇල්, පොක්කාලි, මා වී, හැටදා වී, දහනාල, රත්ඇල්, දික් වී, මසුරන්, බෙහෙත් හීනටි, දික් හීනටි, පුෂ්පරාග, සුදු මුරුංගා, කහමාල, ගෝනබරු, රත්කුණ්ඩ... ආදී වශයෙන් හඳුන්වන්නෙ අපේ පාරම්පරික හාල් වර්ග. ඒ වගේම පසුගිය කාලයේ හොයාගත්තු ස්වයංජාත ඇල් වර්ගයත් ඒ වගේ විශේෂයි. මේ වගේ අපේ පාරම්පරික හාල් වර්ග 1,500 - 2,000 ක් අතර ප්‍රමාණයක් තිබිල තියෙනවා. නමුත් දැන් ඒවායින් කිහිපයයි ඉතුරු වෙලා තියෙන්නෙ. මේ වගේ වී වර්ගවල තියෙන විශේෂත්වයක් තමයි කෘෂි රසායන භාවිතා කරන්නෙ නැතිව වගා කරන්න පුළුවන් වීම. කාබනික පොහොර භාවිතයෙන් විතරක් හොඳ අස්වැන්නක් ගන්න පුළුවන්. කෘතීම වී වගේ නෙවෙයි, පළිබෝධවලටත් ඔරොත්තු දෙන ප්‍රතිශක්තියක් මේ පැරණි වී වර්ගවල තියෙනවා. ඒ නිසා කෘෂි රසායනවලට යන වියදමත් ඉතිරි වෙනවා. ඒ වගේම පොළොවේ ස්වභාවික ක්‍රියාකාරීත්වය වර්ධනය කරල සරුසාර කරල සමතුලිතතාවය පවත්වාගෙන යන්නත් මේ පැරණි බෝගයන් බොහෝකොටම ඉවහල් වෙනවා.

ඊළඟට ප්‍රධානම කාරණය තමයි, මේ පාරම්පරික හාල් වර්ගවල තියෙන පෝෂණ ගුණය සහ ප්‍රතිඔක්සිකාරකතාවය. බෝ නොවන රෝගවලින් වැළකෙන්න මේ ප්‍රතිඔක්සිකාරකතාවය ඉතා වටිනවා. ඒක කෘතීම හාල්වල නැති ඉතා ඉහල ප්‍රතිශතයක්. මේ විදිහට කෘතීම හාල් සහ අපේ පාරම්පරික හෙළ හාල් වර්ග කිහිපයක අඩංගු පෝෂණය හා ප්‍රතිඔක්සිකාරකතාවය පහත වගුවෙන් සංසන්දනාත්මකව තේරුම් ගන්න පුළුවන්. මේ පිළිබඳව දැන් පර්යේෂණ කරල කෘෂි විද්‍යාඥයින් ඇතුළු විවිධ පර්යේෂණ කණ්ඩායම් විසින් තොරතුරු හෙළි කරගෙන තියෙනවා.

| හාල් වර්ගය | ප්‍රෝටීන් | මේදය | කාබෝහයිඩ්‍රේට් | යකඩ Mg/100g | ප්‍රතිඔක්සිකාරකතාවය |
|---|---|---|---|---|---|
| BG 352 | 7.5 | 4.3 | 72.7 | 1.9 | 0.7 |
| BG 358 | 6.6 | 2.9 | 73.6 | 1.8 | 0.4 |
| පච්ච පෙරුමාල් | 13.3 | 2.8 | 70 | 3 | 3.3 |
| කළුහීනටි | 11.4 | 2.7 | 71 | 2.7 | 2.7 |
| කහවණු | 10.6 | 2.7 | 74 | 2.4 | 1.8 |
| මඩතවාලු | 11.5 | 3 | 71 | 2.8 | 1.7 |
| බෙත් හීනටි | 11.4 | 2.7 | 73 | 2.2 | 1.7 |

දැන් තියෙන වකුගඩු රෝග, හෘද රෝග, දියවැඩියාව, අංශභාගය, පිළිකා වගේ මාරාන්තික බෝ නොවන රෝගවලින් මේ පවතින තත්ත්වයන් යටතේ ගැලවෙන්න ඉතාම අමාරුයි. හැබැයි අපේ මේ පාරම්පරික හාල් වර්ග භාවිතා කිරීමෙන් ඒ බලපෑම සැහෙන ප්‍රමාණයකින් අවම කරගන්න පුළුවන්. ශරීරගත විස ප්‍රමාණය අඩු කරගන්න පුළුවන්. අතුරු ආබාධ සහිත ඉංග්‍රීසි බෙහෙත් පෙති ගිලිනවට වඩා ඒක හොඳයි. දැන් අපි කන සාමාන්‍ය හාල්වලින් උයන බත් පිඟන් 2 ක් වෙනුවට මේ පැරණි හාල් වර්ගවලින් උයන බත් පිඟන් 1 ක් කෑවම බඩගිනි නිවෙනවා. හරියට කොන්ක්‍රීට් දැම්ම වගේ. සැහෙන වෙලාවකට බඩගිනි හැදෙන්නෙ නෑ. ගතට හිතට හොඳ සවි ශක්තියක් ලැබෙනවා. මොකද ඒ පැරණි හාල්වල තියෙන තන්තු ප්‍රමාණයත් වැඩි නිසා ටික ටික තමයි ශක්තිය නිදහස් වෙන්නෙ. ඒ වගේම ඒවායේ තැන්පත් වෙලා තියෙන සුද්ධ ශක්තියත් වැඩියි.

දැනට පර්යේෂණවලින් පවා සොයාගෙන තියෙන තොරතුරු අනුව පාරම්පරික හාල් වර්ග කිහිපයක ගුණාංග මේ විදිහට කෙටියෙන් සඳහන් කරන්න පුළුවන්.

**සුවඳැල්** - ඇස් පෙනීම වර්ධනය හා ස්නායු උත්තේජනය, කටහඬේ මිහිරි බව ඇති කිරීම, දියවැඩියාව හා අධි රුධිර පීඩනය පාලනය, සමබර කායික මානසික ශක්තිය පැවැත්වීම, සියළු රෝග නිවාරණයට උපකාරී වීම.

**කළුහීනටි** - ඖෂධීය ගුණය ඉතා ඉහලයි. විශේෂයෙන් මේ හාල්වලින් සකස් කරන කැඳ කහ උණ රෝගයට ඖෂධයක් වෙනවා. ඒ වගේම ආහාර දිරවීම පහසු කිරීම, කාය ශක්තිය වර්ධනය කිරීම, මලබද්දය දුරුකිරීම, දියවැඩියාව හා හෘද රෝග පාලනය, සර්ප විස නැසීමේ බලය, පිළිකා නාශක ගුණය ඇතුළු සියළු රෝගවලට ගුණයි.

**පච්චපෙරුමාල්** - ශරීරයේ ඇති පෝෂ්‍ය කොටස් මුත්‍රා ඔස්සේ බැහැර වීම වැළැක්වීම, ඇට මිදුළුවල ක්‍රියාකාරීත්වය වැඩි කිරීම හා එමගින් සියළු රෝග නිවාරණයට අවශ්‍ය ස්වභාවික ප්‍රතිශක්තිය වැඩි කිරීම. විශේෂයෙන් දියවැඩියාව, අධිරුධිර පීඩනය, හන්දි රෝග, පිළිකා හා වකුගඩු රෝගවලට ගුණයි.

**කුරුළුතුඩ** - පිත්තාශයේ ක්‍රියාකාරීත්වය වර්ධනය, කාටිලේජවල ඇති කැල්සියම් ආරක්ෂා කිරීම, ඇට මිදුළුවල ක්‍රියාකාරීත්වයෙන් ස්වභාවික ප්‍රතිශක්තිය වැඩි කිරීම, ආහාර දිරවීම පහසු කිරීම සහ හන්දි රෝගවලට ගුණයි.

**මාවී** - ශරීරයේ දුර්වල්ල පහ කර සිසිල් කිරීම, ශරීරගත විස ඉවත් කර විරේක කිරීමේ බලය, දියවැඩියාව, මලබද්ධය, අර්ශස්, තරබාරුකම හා හෘද රෝග පාලනයට උපකාරී වීම. ඒ වගේම ක්ෂය රෝගීන්ට ගුණදායකයි.

**මඩතවාලු** - ආහාර ජීර්ණය හා අවශෝෂණය පහසු කිරීම, ශරීරගත විස ඉවත් කිරීම, විටමින් වර්ග බහුල වීම, ස්වභාවික ප්‍රතිශක්තිය වැඩි දියුණු කර දියවැඩියාව, හෘද රෝග, පිළිකාව පාලනය කිරීම.

**රත්ඇල්** - අක්මාවේ ක්‍රියාකාරීත්වය වර්ධනය, මානසික ආතතිය නිසා එන කායික රෝග පාලනය, මුත්‍රාශ්‍රිත රෝග පාලනය, ශරීරයේ සිසිල් බව ඇති කිරීම, ආහාර මාර්ගයේ ක්‍රියාකාරීත්වය පහසු කිරීම, මුත්‍රාශයේ හා පිත්තාශයේ ගල් ඇතිවීම පාලනය. වෛරස් රෝගවලට ගුණයි. ක්ෂය රෝගීන්ට හා පෙණහළු රෝගීන්ට ගුණයි. ඒ වගේම නිවුඩු රත් ඇල් හාල් කුඩු කරල බැදල එළඟි තෙල් සමග බඩ විරේකයක් සඳහා ප්‍රතිකර්මයක් වශයෙන් යොදා ගන්නත් පුළුවන්.

**කහමාල** - දියවැඩියාව, හෘද රෝග, පිළිකා, අක්මා රෝග හා ආහාර මාර්ගයේ උෟණතා පාලනය කිරීම.

**කහවණු** - පිළිකා, දියවැඩියාව හා හෘද රෝගවලට ගුණදායකයි.

**බටපොල ඇල්** - රුධිරය වැඩීම, ශරීරගත විස ඉවත් කිරීම, දියවැඩියාව හා පිළිකා නාශක ගුණය

**හැටදා වී** - දියවැඩියාව හා ක්‍ෂය රෝග පාලනය, ශරීර දුර්වල්ල නැති කර සිසිල් කිරීම, ශරීර ශක්තිය වැඩි දියුණු කිරීම.

**මසුරන්** - දියවැඩියාව පාලනය, බහිස්‍රාවී ක්‍රියා හා ආහාර ජීර්ණය පහසු කිරීම, අකලට මහළු වීම පාලනය.

**පොක්කාලි** - දියවැඩියාව, ස්නායු රෝග, පිළිකා, සමේ රෝග, අකලට මහළු වීම පාලනය.

මීට අමතරව පොදුවේ මේ නම් සඳහන් කළ නොකළ සියළු පාරම්පරික හාල් වර්ග හැම එකකම ශරීරගත විස ඉවත් කිරීමේ බලයත්, ස්වභාවික ප්‍රතිශක්තිය වර්ධනය කිරීමේ හැකියාවත් තියෙනවා. ඒ වගේ තවත් පොදු ගුණාංග කිහිපයක් මේ විදිහට සඳහන් කරන්න පුළුවන්. සමබර ශරීර වර්ධනයට උපකාරී වීම. බහිස්‍රාවී ක්‍රියා පාලනය කිරීම. මධුමේහය වගේ රෝගී තත්ත්වයන් සමනයට උපකාරී වීම. කොලෙස්ටරෝල් පාලනය. හෘද රෝගවලට, වකුගඩු රෝගවලට, හන්දි රෝගවලට ගුණදායක වීම. පිළිකා නාශක ගුණයෙන් යුක්ත වීම. කාය ශක්තිය වර්ධනය කිරීම. තන්තු අධික නිසා මලබද්ධය දුරු කිරීම. වැඩෙන කුඩා දරුවන්ගේ පෝෂණයට උපකාරී වීම. අධි රුධිර පීඩනය පාලනය කිරීම. රුධිරයේ හිමොග්ලොබින් උත්පාදනය කිරීමට උපකාරී වීම. වා පිත් සෙම් රෝගවලට ගුණදායක වීම. ජාන විකෘති වීම වැළැක්වීමේ හැකියාව. ස්නායු රෝගවලට ගුණදායක වීම. සමේ රෝගවලට සහ සමේ පැහැපත් බවට උපකාරී වීම. පෙණහළුවල ක්‍රියාකාරීත්වය වර්ධනය කිරීම.

මේ සඳහන් කළේ පොදුවේ ගත්තම හෙළ හාල් වර්ගවල තියෙන ගුණාංග කිහිපයක් විතරයි. හැබැයි ඒ ඒ හාල් වර්ගය අනුව මේ ගුණ අඩු වැඩි වෙන්න පුළුවන්. සමහර හාල් වර්ගයක මේ ගුණ ඔක්කොම නැතත් කිහිපයක් විශේෂයෙන් තියෙන්න පුළුවන්. කොහොමහරි මේ සියළුම පැරණි හාල් වර්ග දැන් තියෙන හාල් වර්ගවලට වඩා ගුණාත්මකභාවයෙන්, පෝෂණයෙන්, ඖෂධීය ගුණයෙන් හැම පැත්තෙන්ම ඉහලයි.

ඒ නිසා මේ පවතින ව්‍යසනකාරී තත්ත්වයෙන් ගොඩ එන්න නම් මේ පැරණි වී වර්ග නැවත වගා කරන්න ඕන. ඒ සඳහා දිරි ගන්වන්න ඕන. දැන් ඉතින් ඒ සඳහා රටේ හොඳ ප්‍රවණතාවයක් තියෙන බවත් දැක බලාගන්න පුළුවන්. නවීන හාල් වර්ගවල තියෙන සෞඛ්‍ය අවදානමත්, පැරණි හාල් වර්ග භාවිතයෙන් ලැබෙන කායික මානසික ශක්තියත්, දීර්ඝායුසත්, පරිසර හිතකාමී බවත් කියන මේ ආදී කාරණා සියල්ලම සැළකිල්ලට අරගෙන දැන් මේ පැරණි හාල් වර්ග සම්බන්ධයෙන් වැඩි උනන්දුවක් සමාජයේ ඇතිවෙලා තියෙනවා. මොකද මීට අවුරුදු ගණනාවකට පෙර සිටම මේ හාල් වර්ග දකින්න තියා නමක්වත් අහන්න ලැබුනෙ නෑ. මීට දශක 4 - 5 කට පමණ උඩදී අපේ රට්ටු මේවා පරිභෝජනයෙන් ඈත් වුනා. නමුත් දැන් වෙළඳපොලේ සුළු වශයෙන් හරි මේ පැරණි හාල් වර්ග මිලදී ගන්න පුළුවන්. විවිධ කෘෂි ප්‍රදර්ශනාගාරවලත් දැක බලාගන්න පුළුවන්. රටේ විවිධ පළාත්වල සුළු වශයෙන් හරි වගා කරනවා. ඒවාට රාජ්‍ය අනුග්‍රහයත් ලැබිල තියෙනවා. මිනිස්සුත් යම් තරමකට හරි තේරුම් අරගෙන ඒවා මිලදී ගන්න පෙළඹිලා තියෙනවා.

ඉතින් දැනට තියෙන විකෘති වෙච්ච පරිසර සාධක අනුව මේවා නිෂ්පාදනය කරන්න වැඩි වෙහෙස මහන්සියක් ගියත්, කාලයක් කරගෙන යනකොට සාමාන්‍ය තත්ත්වයට පත්කර ගන්න පුළුවන්. ඒ නිසා දැනට සාමාන්‍ය හාල්වලට වඩා මේ හාල්වල මිල ගණන් තරමක් වැඩි වුනත්, ඉඳල හිටල හරි මේ වගේ හාල් වර්ගවලින් බතක් උයාගෙන කන එක, කැඳක් හදාගෙන බොන එක ලොකු කුඩා කාගෙත් ශරීර සෞඛ්‍යයට බොහොම ගුණදායකයි. එහෙම ක්‍රමයෙන් පුරුදු වෙලා අන්තිමට මේ පැරණි හාල් වර්ග නිතර නිතර පාවිච්චි කරන්න පුරුදු වෙනව නම් මේ තියෙන ව්‍යසනයෙන් බේරෙන්න පුළුවන්. මොකද නැත්නම් අඩු මුදලක් දීල වෙළඳපොලේ දැන් තියෙන හාල් උයාගෙන කෑවට, ලෙඩ වෙලා රෝහල්වල පෝලිම්වල ළගින්න ගියාම ඊට වඩා සිය දහස් ගුණයක් වියදම් කරන්න වෙනවා. ඊට අමතරව ජීවිත කාලය තුල ලෙඩ කයකින් දුක් විඳින්න වෙනවා. මොකද දැන් තියෙන හාල්වල නැති විසක් නෑ. ගුල්ලො ගහනවටත් විස එකතු කරනවා. පාන් පිටි ඊටත් වඩා විසයි. නමුත් මේ පැරණි හාල්වල තියෙන ඉහල ප්‍රතිඔක්සිකාරකතාවය නිසා ශරීරයේ තියෙන විස සෑහෙන ප්‍රමාණයක් මරන්න පුළුවන්. ඒවා අනුභවය නිසා සෑහෙන වෙලාවක් බඩගිනි නැතිව ඉන්න පුළුවන්. අපේ මුතුන් මිත්තන් දිගු ආයුසක් වැළඳුවෙත් මේ වගේ පැරණි ආහාර රටාවන් අනුගමනය කිරීමෙන්. එදා පිටරටවලට පවා බත සැපයුවේ වස විසෙන් තොර මේ වගේ කෘෂි නිෂ්පාදනවලින්.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සමාධිමය අත් බෙහෙත්...

පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් සසර පාරමිතාවක් පරිදි, ලෝ සතුන් කෙරෙහි අනුකම්පාවෙන් විවිධ ලෙඩ රෝග සඳහා බෙහෙත් සමාධියෙන් මතු කරගත් තවත් ප්‍රත්‍යක්ෂ අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බේතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බව සළකන්න.







## 1. සියළු විසට

ශරීරගත සියළු විසට ප්‍රත්‍ය වෙන බේතක් තමයි මේ. මේ සඳහා අමු පොල්පිති බඩ කලං 12 ක් අරගෙන වතුර පත 8 - 1 ට හිඳගෙන නිවුනට පසු සහිඳ ලුණු කලං 2 1/2 ක් සහ මී පැණි අවුන්ස 1 ක් දමා, අනුපාන වශයෙන් එඬරු තෙල් අවුන්ස 1 ක් සමග උදේ 6.00 ට, සවස 6.00 ට වශයෙන් වේල් 7 ක් ගන්න.

## 2. වෛරස් සමනයට

කජු ලෙලි පුච්චා ගත් අළු සහ පොල් පිති අළු සමව අරගෙන බුලත් කොළවල අග මුල කඩා ඉවත් කරගෙන ඉතිරි කොළ කොටා ඉස්ම අරගෙන ඒ ඉස්මෙන් අර අළු මිශ්‍රණය අනාගෙන කෝපි ගෙඩි 1/2 ක් තරම් ගුලි හෝ පෙති විදිහට හදාගන්න. (අළුවල කළු පාට අඩක් විතර තිබුනට ගැටළුවක් නෑ.) බුලත්වල ඉස්ම ගතිය අඩු නිසා, බුලත් කොටනකොට බුලත් කොළ කිලෝ ග්‍රෑම් 1 කට වතුර බෝතල් බාගයක් එන විදිහට එකතු කරන්න.

මේ විදිහට හදා ගත්තු ගුලි හෝ පෙති උදේ, දවල්, රාත්‍රී 2 බැගින් ගන්න. සියළු වෛරස් ආබාධ දුරු වෙන්නත්, බඩ වැලේ ඇල දිවේ ඇතුළු සියළු ඉන්ද්‍රියන්ගේ සහ මොළයේ හට ගන්නා ගෙඩි සුව වෙන්නත්, පිළිකා ආශ්‍රිත වෛරස් දුරු වෙලා ඒවායේ වර්ධනය වීම් නවතින්නත්, ඇට මිදුළු ආශ්‍රිත වෛරස් සමනය වෙන්නත් මේ බේත හේතු වෙනවා.

## 3. සම පිට කබර රෝගයට තෙලක්

අවශ්‍ය අමුද්‍රව්‍ය :- නා ඇට මද දෙමිටයි (කලං 6 යි), වියළි පොල්පලා කලං 6 යි, ඉරිවේරිය දඬු කලං 6 යි, ලිපේ අළු කලං 6 යි, ගව මුත්‍ර අවුන්ස 3 යි, පිරිසිදු එළඟිතෙල් බෝතල් 1/8 යි, පිරිසිදු තල තෙල් බෝතල් 1/2 යි, පිරිසිදු පොල්තෙල් බෝතල් 1/8 යි.

මේ අමුද්‍රව්‍ය සියල්ලම මැටි ඇතිලියකට දාල කට රෙදි කඩකින් හොඳින් වහන්න. ඊළඟට ඒ මැටි ඇතිලිය බස්සවන්න පුළුවන් මට්ටමේ තවත් ලොකු මැටි ඇතිලියක් අරගෙන, ඒකට 1/5 ක් විතර වතුර පුරවල අර අමුද්‍රව්‍ය සහිත ඇතිලිය ඒ තුලට බස්සවල ලොකු ඇතිලියේ කටත් හුළං නොවදින්න හොඳින් බැඳල පියනකින් වහන්න.

දැන් මේ සම්පූර්ණ කට්ටලයම පොළොව යට මඩ සහිත තැනක වළලල දින 21 න් ගොඩ අරගෙන සියල්ල හොඳින් මිශ්‍ර කරගෙන මඳ ගින්නේ හිඳින්න. හිඳෙනකොට කළුදුරු, සතකුප්ප, නාමල් රේණු, විෂ්ණුක්‍රාන්ති, වී පොරි කියන මේවා සම සමව දමන්න. මයුර පාකයට එනකොට බාගන්න. මේ විදිහට හිඳ ගත්ත තෙල උදේ හවස සම මතුපිට ගල්වන්න.

## 4. රක්ත උෟෂ්ණය නිසා හට ගත් සියළු ආබාධවලට

අවශ්‍ය අමුද්‍රව්‍ය :- තල පිති ඉස්ම බෝතල් 4 යි, පිරිසිදු එළඟි තෙල් බෝතල් 3 යි, කිතුල් හකුරු කිලෝ 3 යි (හකුරු නැත්නම් ඒ වෙනුවට කිතුල් පැණි බෝතල් 4 ක් ගන්න.), අළු කෙසෙල් අල හෝ ගෙඩි කැබලි කපා වේළාගෙන කිලෝ 4 යි. (මේ අනුපාතයන් එන විදිහට අමුද්‍රව්‍ය අඩු වැඩි කරගන්නත් පුළුවන්.)

මේ සියල්ලම ලිපේ තියල චූර්ණ වෙනකල් හැඳි ගාමින් බස්සවා ගන්න. ඒ විදිහට හදාගත්ත චූර්ණයෙන් උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර තේ හැඳි 1 බැගින් මාස 3 ක් ගන්න.

මේ ඖෂධයෙන් රක්ත උෟෂ්ණය නිසා කලින් කල ඇතිවන අත්පාවල තුවාල, පිපිරීම්, කුෂ්ඨ... ආදියත්, සියලු රක්තවාත ආබාධත්, විවිධ විස කැවීම් නිසා හට ගත් රක්ත උෂ්ණ ආබාධත් සුව වෙනවා. ඒ වගේම මේ රෝගී තත්ත්වයන් නිසා විටින් විට හට ගන්නා උණ ගැනීම් සුව වෙනවා.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

